## ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අතිසෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

ආනන්ද සමරකෝන්

# පෙරවදන

මනුගුණදම් සුරකින්නට නිති කැපවුණු කුසලතා පිරි මනුෂ්‍ය වර්ගයාට මේ ලෝකය වඩාත් සොඳුරු බිමක් බවට පත් කළ හැකි ය. ඒ සඳහා රටක අධ්‍යාපනය නිරතුරුවම බලසම්පන්න කරගතයුතු වන්නේ අනාගත වැඩලොව පිළිබඳව ද මනා අවදියෙන් සිටිමිනි. දිනෙන් දින විශ්ව ගම්මානය වෙත එක්වන සාරවත් නව දැනුම අපේ ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය සමඟ මුසුකර ගැනීම අනිවාර්යයෙන් සිදුවිය යුතු අතරම අපගේ යහගුණදම් ද ඒ හා ඒකාත්මික කරගන්නට අමතක නොකළ යුතු ය. මෙම සාධනීය ගුණාංග රැකගනිමින් වඩාත් යහපත් සිසු පරපුරක් නිර්මාණය කිරීමේ උත්කෘෂ්ට මෙහෙවරට අවැසි ගුණාත්මක ඉගෙනුම් ආධාරක සම්පාදනය කිරීම අප දෙපාර්තමේන්තුවේ ප්‍රමුඛ පරමාර්ථය බව අවධාරණය කරමි.

නේක විසිතුරු සිත්තම් හා අකුරුවලින් සපිරි මේ පෙළපොත් අනාගත ලොවට මඟ එළි දල්වන ප්‍රදීපස්තම්භ බඳු ය. ඔබ පාසල් බිමෙන් සමුගත් දිනක වුව, තුටින් සිහි කළ හැකි මිහිරි මතක, මේ පාඩම් පොත් පිටු අතර රැඳී තිබෙනු නිසැක ය. ගුරු තරුවල නොමඳ ආලෝකය ලබා ගනිමින් ඔබ මේ දැනුම හා වින්දනය කැටිකළ අනගි ත්‍යාගයෙන් නිසි පල නෙළා ගත යුත්තේ තව තවත් දැනුම් අවකාශ වෙත යුහුසුලුව පියමනිමිනි. රජය පෙළපොත් වෙනුවෙන් වැය කළ අප්‍රමාණ වූ ධනස්කන්ධයට අමිල අගයක් ලබා දිය හැක්කේ පාසල් සිසු දරු දැරියන් වූ ඔබට පමණි. දිවිය වෙත හඹා එන අනේක බාධක දිරියෙන් ජයගෙන, හෙට ලොව සුපුෂ්පිත කරවන්නට දැයේ දරුදැරියන්ට හැකිවේවායි අප්‍රමාණ ස්නේහයෙන් ආශීර්වාද කරන්නෙමි.

පෙළපොත් සම්පාදන ක්‍රියාවලිය වෙනුවෙන් මනා කැපවීමකින් සම්පත්දායකත්වය සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයේ සැමටත් මාගේ හදපිරි ස්තුතිය පිරිනමමි.

**පී. එන්. අයිලප්පෙරුම**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
ඉසුරුපාය
බත්තරමුල්ල
2020.06.26

## නියාමනය හා අධීක්ෂණය

පී. එන්. අයිලප්පෙරුම — **අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්,**
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව.

## මෙහෙයවීම

ඩබ්ලිව්. ඒ. නිර්මලා පියසීලි — **අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස්** (සංවර්ධන),
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව.

## සම්බන්ධීකරණය

එම්. ටී. අබ්දුර් රහ්මාන් — **සහකාර කොමසාරිස්,**
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව.

අයි. ඒ. එම්. අෆ්සාන් — **සහකාර කොමසාරිස්,**
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව.

## ලේඛක මණ්ඩලය

එම්. එච්. එම්. බුහාරි — **ගුරු උපදේශක,**
කලාප අධ්‍යාපන කාර්යාලය, මිනුවන්ගොඩ.

එම්. එම්. ෆස්លුර් රහ්මාන් — **උපගුරු,**
බාබුස් සලාම් ම. වි, පස්යාල.

එම්. එච්. එම්. නාලිර් — **සම්පත් පුද්ගල, (විශ්‍රාමලත්)**
ජාතික අධ්‍යාපන ආයතනය, මහරගම.

මෞලවියා එම්. එන්. එෆ්. නිසායා — **උපගුරු,**
බාබුස් සලාම් ම. වි, පස්යාල.

අසීමා හුසෙයින් — **ජ්‍යේෂ්ඨ උපගුරු**
රාජකීය විද්‍යාලය, කොළඹ 7

අල් හාෆිල්. මුහම්මදු නිස්ෆර් නිලාර් — **විෂයභාර ගුරු (සිංහල),**
කුල්ලියතුර් රෂාද් අරාබි විද්‍යාලය,
කොළඹ 14.

**සංස්කාරක මණ්ඩලය**

ඒ. සී. අගාර් මුහම්මද්

**නියෝජ්‍ය අධ්‍යක්ෂ,**
ජාමියා නලීමියා,බේරුවල.
**නියෝජ්‍ය සභාපති,**
සමස්ත ලංකා ජම්ඉයියතුල් උලමා.

ඉසෙඩ්. තාජුදීන්

**අධ්‍යාපන අධ්‍යක්ෂ,** අධ්‍යාපන අමාත්‍යාංශය.

එම්. ආර්. එම්. ඉර්ෂාන්

**නියෝජ්‍ය අධ්‍යාපන අධ්‍යක්ෂ,**
අධ්‍යාපන අමාත්‍යාංශය.

එම්. එස්. අබ්දුල් බාරි

**ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය,**
පේරාදෙණිය විශ්වවිද්‍යාලය.

ජේ. එම්. ජසාර්

**කථිකාචාර්ය,** ජා.අ.ආයතනය, මහරගම.

එම්. ටී. අබ්දුර් රහ්මාන්

**සහකාර කොමසාරිස්,**
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව.

**භාෂා සංස්කාරක**

අයි.රංජිත්

**අධ්‍යක්ෂ,**
ශ්‍රී ලංකා ජාතික ග්‍රන්ථ සංවර්ධන මණ්ඩලය,
අධ්‍යාපන අමාත්‍යාංශය.

**සෝදුපත් කියවීම**

අයි.ඒ.එම්. අෆ්සාන්

**විදුහල්පති,**
අල් මින්හාජ් ජාතික පාසල, හපුගස්තලාව.

**අවසන් ඇගයුම**

මෞලවි.කෙ.බි.නසාර්දීන්

**විදුහල්පති,**
මදීනා විද්‍යාලය,
කුඩානෙලුබාව, රිදෝගම.

ඒ. ආර්. එම්. සියාද්

**උපගුරු,**
රුවන්ගිරි මධ්‍ය මහා විද්‍යාලය, බෝගමුල්ල.

එස්.පී.ඩී.එස්.ගුණසේකර

**උපගුරු,**
ඥනෝදය මහා විද්‍යාලය, කළුතර.

**පරිගණක පිටු සැකසුම**

කන්දයියා සුද හරන්

**පරිගණක සහායක,**
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව.

**පිටකවර නිර්මාණය**

එම්. ඩබ්ලිව්. ඒ. අසාර්

**පරිගණක සහායක,**
6 F, රක්ෂපාන, මල්වාන.

**චිත්‍ර**

එම්.එන්.එෆ්.සිහානා

**උපගුරු**
කඩයාමෝඩ්ඩයි මුස්ලිම් මධ්‍ය ම.වි.
මදුරංකුලිය.

# පටුන

# 1 අල්ලාහ්









**ශිෂ්‍යයිනි, ඉහත දී ඇති දර්ශන බලන්න.**

රෑ දවාල කුමකට ද?
සුළඟ සහ වර්ෂාව කුමකට ද?
ගස් වැල් සහ පැළෑටි කුමකට ද?
පොළොවේ ජලය ඇත්තේ කුමකට ද?

**ඒවා ඇත්තේ මෙලොව මිනිසාගේ පැවැත්ම සඳහා ම ය.**

අපට මෙලොව ජීවත් වීම සඳහා අල්ලාහු තආලා සම්පත් සහ පහසුකම් රාශියක් සලසා ඇත්තේ ය. ඉහත වැකිවලින් අපට පෙන්වා දෙනුයේ ඒවායින් වැදගත් අංග කිහිපයක් පිළිබඳව යි. ඒවා නොමැතිව මිනිසාට ජීවත් වීමට නොහැකි ය. එනිසා අල්ලාහ් මිනිසාගේ අවශ්‍යතා දැන සපුරාලීමට ඒවා මවා ඇත්තේ ය. අපට ඒවා පහසුවෙන් ම ලබා ගත හැකි ආකාරයට ද ඇත්තේ ය. එනිසා අපි අල්ලාහ් 'රබ්' (ස්වාමියා) ලෙස පිළිගනිමු.

මෙලොව වෙසෙන මිනිසුන්, අනෙකුත් ජීවීන්, ගස්, වැල්, අහස, පොළොව, ඒවායෙහි ඇති දේ හා විශ්වයේ තිබෙන සියලු දේහි ම 'රබ්' ලෙස අල්ලාහ් සිටින්නේ ය. මේ සියල්ලෙහි අවශ්‍යතා දැන ඒ සියල්ල ඉටු කරන්නා ලෙස අල්ලාහ් සිටින්නේ ය. එනිසා අපි අල්ලාහ්ට 'රබ්බුල් ආලමීන්' (සර්ව ස්වාමියා) යැයි අමතන්නෙමු.





අල්ලාහ් අපගේ ස්වාමියා වන නිසා අපි අල්ලාහ්ගේ වහල්ලු වෙමු. එනිසා අප අපගේ ස්වාමියා වන අල්ලාහ්ට පමණක් නැමදිය යුතු ය. ඔහුගෙන් පමණක් උදවු පැතිය යුතු ය. තව ද ඔහු පිරිසිදු සිතින් මෙනෙහි කර තස්බීහ් කළ යුතු ය.

අපි අපගේ ස්වාමියා වන අල්ලාහ් **"සුබ්හානල්ලාහ්"** (අල්ලාහ් පරිශුද්ධ ය) යැයි දික්ර් කරනවා නොවේ ද? අප එසේ කරන්නේ ඇයි දැයි ඔබ සිතුවෙහි ද?

"ජාහිලියා" යනුවෙන් හඳුන්වන අඥාන කාලයේ අරාබිවරු දෙවියන්ගේ මැවීම් වන ගස් වැල්වලට නමස්කාර කළෝ ය. හිරුට හා සඳුට ද නමස්කාර කළෝ ය. තාරකාවලට හා ග්‍රහලෝකවලට ද නමස්කාර කළෝ ය. ගල් මුල්වලට ද නමස්කාර කළෝ ය. තමා කැමති ආකාරයට කැමති දේවල් වලට නමස්කාර කළෝ ය. මේවා නැමදීම මගින් අල්ලාහ්ගේ දයාව ලබා ගත හැකි බවට ද ඔහුට ළං විය හැකි බවට ද ඔවුහු සිතා සිටියෝ ය. තව ද මේවා තමන් වෙනුවෙන් අල්ලාහ් වෙත නිර්දේශ කරන බවට ද විශ්වාස කර සිටියෝ ය. මුහම්මද් සල්ලල්ලාහු අලෙයිහි වසල්ලම්තුමා නබිවරයකු වශයෙන් යවනු ලැබුවේ මෙවැන්නන් අතරට ය.

නබි සල්ලල්ලාහු අලෙයිහි වසල්ලම්තුමාණෝ අල්ලාහ්ට පමණක් නැමදිය යුතු බව ඔවුන්ට දේශනා කළෝ ය. ඊට පිටුපා අල්ලාහ්ගේ මැවීම්වලට නැමදුම් කිරීම "ෂිර්ක්" (අල්ලාහ්ට සම කිරීම) වේ යැයි ද එය මහා පාප කර්මයන්ගෙන් එකක් යැයි ද අවවාද කළෝ ය. මිනිසුන් ෂිර්ක්හි නිරත වන්නේ අල්ලාහු තආලා අමතක වන විට දී ය යන්න අවබෝධ කරගෙන අල්ලාහ් නිතර මතක් කිරීම සඳහා දික්ර් කිරීමට කියා දුන්නෝ ය.

**'සුබ්හානල්ලාහ්'** යනු නබි සල්ලල්ලාහු අලෙයිහි වසල්ලම්තුමාණන් අල්ලාහ් මතක් කිරීම සඳහා කියා දුන් දික්ර්වලින් එකකි. නබිතුමාණෝ මෙය උදේ සවස බොහෝ වතාවක් පාරායනා කළහ. තව ද අල්ලාහ්ගේ මැවීම් ගැන සිතන විට දී ද එය පාරායනා කර ඇත්තෝ ය.

අප ද අල්ලාහ්ගේ මැවීම් ගැන සිතීමට පුරුදු පුහුණු විය යුතු ය. අහසේ තිබෙන හිරු, සඳු හා තාරකා යනාදි සියල්ල අල්ලාහ්ගේ මැවීම් වන්නේ ය. පොළොවේ ජීවත් වන කුඹියාගේ සිට අතිවිශාල කඳු දක්වා වූ සියල්ල අල්ලාහ්ගේ මැවීම් වේ. ඒ අනුව අප වටා දක්නට තිබෙන සියලු දේ ද අල්ලාහ්ගේ මැවීම් වේ.

අල්ලාහ් මෙම මැවීම් කළේ කුමක් සඳහා ද, කෙසේ මැව්වේ ද, ඒවා කෙසේ ක්‍රියා කරවන්නේ ද, ඒවා කෙසේ පරිපාලනය කරන්නේ ද යන ප්‍රශ්න වලට පිළිතුරු දීමට උත්සාහ කිරීම, අල්ලාහ්ගේ මැවීම් ගැන සිතීම වන්නේ ය. අල්ලාහ්ගේ මැවීම් ගැන සිතන සෑම විටක දී ම අප **සුබ්හානල්ලාහ්** යැයි පැවසිය යුතු ය. එසේ කරන ලෙසට අල්කුර්ආනයේ ද අපට කියා දී ඇත.

**අපි සුබ්හානල්ලාහ් යැයි කීම මගින්,**

- ★ **"අල්ලාහ්ට සම කිරීමට කිසිවක් නැත", යන්න තහවුරු කරන්නෙමු.**
- ★ **"අල්ලාහ් සියල්ලෙහි ම පරිපූර්ණ වූවෙකි", යන්න තහවුරු කරන්නෙමු.**
- ★ **"අල්ලාහ් කිසිදු දෝෂයකින් තොර වූවෙකි", යන්න තහවුරු කරන්නෙමු.**
- ★ **"අල්ලාහ්ට අවසානයක් නැත", යන්න තහවුරු කරන්නෙමු.**
- ★ **"අල්ලාහ්ට සමාන අන් කිසිවක් නොමැත", යන්න තහවුරු කරන්නෙමු.**
- ★ **"අල්ලාහ් කිසිදු අවශ්‍යතාවකින් තොර වූවෙකි", යන්න තහවුරු කරන්නෙමු.**
- ★ **"අල්ලාහ් කිසිවකුගේ උදවු උපකාරයකින් තොර ව සියලු දේ මැව්වේ ය." , යන්න තහවුරු කරන්නෙමු.**



අප 'සුබ්හානල්ලාහ්' යැයි දික්ර් කරන විට අල්ලාහ් ඉතා සතුටු වන්නේ ය. අපහට දයාව දක්වන්නේ ය. අපට බොහෝ කුසල් ප්‍රමාණයක් ලබා දෙන්නේ ය.

අල්ලාහ්ගේ මැවීම් ගැන සිතමු. ''සුබ්හානල්ලාහ් '' කියා දික්ර් කරමින් ඔහු පරිශුද්ධ කරමු.

**අභ්‍යාස**

**1. හරි / වැරදි ලකුණු කරන්න.**

(i). අල්ලාහ් මිනිසුන්ට පමණක් ''රබ්'' වේ. (     )

(ii). අල්ලාහ් සියල්ල මවා පාලනය කරන නිසා අපි ඔහු 'රබ්බුල් ආලමීන්' යැයි අමතන්නෙමු. (     )

(iii). 'සුබ්හානල්ලාහ්' යන්නෙහි අර්ථය 'අල්ලාහ් අති ශ්‍රේෂ්ඨ ය' යන්න වේ. (     )

(iv). මැවීම්වලට නමස්කාර කිරීම ෂිර්ක් යැයි කියනු ලැබේ.(     )

**2. පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.**

(i). 'ෂිර්ක්' යන්නෙහි තේරුම කුමක් ද?

(ii). අල්ලාහ්ගේ මැවීම් පිළිබඳව සිතන විට අප කුමක් කිව යුතු ද?

(iii). 'රබ්බුල් ආලමීන්' යන්නෙහි අර්ථය කුමක් ද? එසේ හඳුන්වනු ලබන්නේ කවරෙකු ද?

(iv). 'සුබ්හානල්ලාහ්' යන වචනය මගින් තහවුරු වන කරුණු 3 ක් ලියන්න.

# 2 සුබ්හාන මව්ලානා

අහස මැවූ දෙවිඳුනි
පොළොව මැවූ දෙවිඳුනි
නැමදුමට සුදුසු දෙවිඳුනි
මහා බලසම්පන්න යා අල්ලාහ්

දයාවෙහි උල්පත නුඹ ම ය
දායාදයන්හි ප්‍රතිරූපය ද නුඹ ම ය
සිත පිරී ඇත්තේ ද නුඹෙන් ම ය
නිතර සිහි කරනුයේ ද නුඹ ම ය

මිනිසා නුඹ අමතක කරන්නේ ය
අනතුරුව පසට නමදින්නේ ය
ගස් වැලට ද වැඳ පුදන්නේ ය
නුඹේ මහිමය අහිමි වන්නේ ය

මලක්වරුන්ගේ සභාවන්හි
උසස් වන්නේ නුඹ වන්නෙහි
අසීමිත නුඹ පැසසුම ඉදිරියෙහි
අපි වන්නෙමු කන්නලව්වෙහි

නුඹ ය අපට පෙනුම දුන්නේ
එමගිනි අපි පාඩම් ලබන්නේ
මැවුම් රැසක් මවාලන්නේ
එමගිනි නුඹේ ශක්තිය වැටහෙන්නේ



සිවු දෙසින් බැලුව ද සාධක රැස ඇත්තේ
සියල්ලට ම සමානයන් එමට ඇත්තේ
එහෙත් දෙවිඳුනි ඔබට සම විය යුත්තේ
වෙනත් කිසිවක් කිසි තැනක නැත්තේ




සීමාවක් නැති දායාද සැම දා
ලොව තුළ මැවූයේ නුඹ ම ය එදා
ඒ සියල්ල මැකී යන දා
නොමැකී සිටින්නේ නුඹ ම ය සදා

දුක කනගාටුව ඇති වන විට දී
නිරතුරු අප සමග නුඹ සිටී
පසසමු නුඹ හැකි සැම විට දී
ඕ! රහ්මාන් නුඹ පමණකි පිළිතුරු අපට ලැදී
අප බර ඉවත් කරලන්නා
ජීවිතේ සුවය ලබා දෙන්නා
ස්වර්ගය අප හට පිරිනමන්නා
සුබ්හාන මව්ලානා

**අභ්‍යාස**

**පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.**

1. අල්ලාහු අමතක වූ විට මිනිසා කරන ක්‍රියා 2ක් ලියන්න.
2. අල්ලාහ් මෙම කවියට අනුව අපට ලබා දී ඇති දායාද 3ක් ලියන්න.

# 3 කලිමතු රද්දුල් කුෆ්ර්

පොදුවේ කලිමා සියල්ල ඉස්ලාමයේ මූලික පදනම ඉතා කෙටියෙන් හා සරල වාක්‍ය කිහිපයකින් ලබා දෙන්නේ ය. එම කලිමා සියල්ල නබි සල්ලල්ලාහු අලෙයිහි වසල්ලම්තුමාණන්ගේ හදීස් මගින් ලබා ගත් ඒවා ය. ඒවා අපට කට පාඩම් කිරීමට හා දික්ර් කිරීමට පහසු ලෙස ඇත.

අපි මුල් ශ්‍රේණිවල දී ද කලිමා ඉගෙන ගත්තෙමු. දැන් අපි පස් වන කලිමාව වන කලිමා රද්දුල් කුෆ්ර් ඉගෙන ගනිමු.

كَلِمَةُ رَدُّ الْكُفْرِ

اَللّٰهُمَّ إِنِّيْ اَعُوْذُ بِكَ مِنْ اَنْ أُشْرِكَ بِكَ شَيْئًا وَاَنَا اَعْلَمُ وَاَسْتَغْفِرُكَ لِمَا لَا اَعْلَمُ إِنَّكَ اَنْتَ عَلَّامُ الْغُيُوْبِ

تُبْتُ عَنْهُ وَتَبَرَّاْتُ عَنْ كُلِّ دِيْنٍ سِوَي دِيْنِ الْإِسْلَامِ

وَاَسْلَمْتُ وَآمَنْتُ وَأَقُوْلُ لَآ اِلٰهَ اِلَّا اللهُ مُحَمَّدٌ رَّسُوْلُ اللهِ

**අල්ලාහුම්ම ඉන්නී අඌදු බික මින් අන් උෂ්රික බික ෂයිඅන් වඅන අඃලමු වඅස්තග්ෆිරුක ලිමාලා අඃලමු ඉන්නක අන්ත අල්ලාමුල් උයූබ්. තුබ්තු අන්හු වතබර්රඃතු අන් කුල්ලි දීනින් සිවා දීනිල් ඉස්ලාම්. වඅස්ලම්තු වආමන්තු වඅකූලු ලා ඉලාහ ඉල්ලල්ලාහු මුහම්මදුර් රසූලුල්ලාහි.**

යා අල්ලාහ් නියත වශයෙන් ම මම දැනුවත් ව ඔබට කිසියම් දෙයක් ආදේශ කිරීමෙන් මිදී සිටීමට ඔබේ රැකවරණය පතමි. තව ද මා නොදැනුවත් ව කළ දෙයින් ද ඔබගෙන් පව් සමාව අයදිමි. නියත වශයෙන් ම සැඟවුණු දෑ හොඳින් දන්නේ නුඹ ම ය. මම පාපයෙන් මිදුණෙමි. ඉස්ලාම් දහම හැර අන් දේවලින් බැහැර වූයෙමි. තව ද මම ඉස්ලාම් දහම වැලඳ ගතිමි. විශ්වාසය තැබුවෙමි. තව ද අල්ලාහ් හැර නැමදීමට සුදුසු අන් කිසිවකු නැතැයි ද මුහම්මද් සල්ලල්ලාහු අලෙයිහි වසල්ලම්තුමා අල්ලාහ්ගේ දූතයා යැයි ද පවසමි.

**අපි මෙම කලිමාව පැවසීමෙන් පහත කරුණු තහවුරු කරන්නෙමු.**

★ සම්පූර්ණයෙන් ම ෂිර්කයෙන් බැහැර වීම

★ සැඟවුණු දේ පවා අල්ලාහ් හොඳින් දැන සිටින බව තහවුරු කිරීම

★ ඉස්ලාමය තුළට සම්පූර්ණයෙන් ඇතුළු වීම

★ එක ම දෙවියා අල්ලාහ් පමණක් බව තහවුරු කිරීම

★ මුහම්මද් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම්තුමා අල්ලාහ්ගේ දූතයා බව පිළිගැනීම.

ශිෂ්‍යයිනි, ෂෙයිතාන් අපගේ සිත් තුළ විශ්වාස කළ යුතු කරුණු පිළිබඳ සැක ඇති කරමින් ම සිටින්නේ ය. එලෙස ම පව් කරන මෙන් අප පොළඹවමින් ම සිටින්නේ ය. මෙවැනි අවස්ථාවල දී අපගේ ඊමානය රැක ගැනීමට ද එය අලුත් කර ගැනීමට ද කලිමා උපකාරී වන්නේ ය.

● මෙම කලිමාව අරුත සමග කට පාඩම් කරමු
● එය දිනපතා පාරායනය කරමු.

**අභ්‍යාස**

**1. පහත සඳහන් අරාබි වැකි සිංහල වචනයෙන් ලියන්න.**

(උදා:)

مُحَمَّدٌ رَّسُوْلُ اللهِ . - මුහම්මදුර් රසූලුල්ලාහි

(i) إِنَّكَ اَنْتَ عَلَّامُ الْغُيُوْبِ

(ii) وَاَسْتَغْفِرُكَ لِمَا لَا اَعْلَمُ

(iii) اَللّٰهُمَّ إِنِّيْ اَعُوْذُ بِكَ

(iv) تُبْتُ عَنْهُ وَتَبَرَّأْتُ عَنْ كُلِّ دِيْنٍ

(v) سِوِي دِيْنِ الْإِسْلَامِ

(vi) مِنْ اَنْ اُشْرِكَ بِكَ شَيْئًا وَاَنَا اَعْلَمُ

(vii) وَأَقُوْلُ لَآ اِلٰهَ اِلَّا اللهُ

(viii) وَاَسْلَمْتُ وَآمَنْتُ

**ක්‍රියාකාරකම**

කලිමාව එහි අර්ථය සමග පාඩම් කර ගුරුතුමාට පවසන්න.

# 4 අවසාන දිනය

මෙලොව හා මෙලොවෙහි ඇති සියල්ල එක් දිනයක දී විනාශ වී යයි. පසුව මරණයට පත් වූ සියලු දෙනා අවදි කර අල්ලාහ් ඉදිරියේ ප්‍රශ්න කරනු ලබන්නෝ ය. 'එම විනිශ්චයට පසුව පින් කළ අය ස්වර්ගයට පිවිසෙති. පව් කළ අය අපායට පිවිසෙති' යන්න අපගේ විශ්වාසයේ (ඊමානයේ) එක් මූලික කරුණක් බව දැනටමත් අප දන්නවා නේ ද?

අවසාන දිනය පිළිබඳ විශ්වාසය තැබීමේ වැදගත්කම අල් කුර්ආනය ද හදීසය ද අවධාරණය කරයි. අවසාන දිනය පිළිබඳ විශ්වාසය අල්ලාහ්ට බිය වී ඔහුට අවනත ව ජීවත් වීමට අපට මඟ පෙන්වයි. කුසල් කිරීමට අප පොලඹවයි. පාප ක්‍රියා කිරීමෙන් අප වළකාලයි.

**අවසාන දිනය** යන්න නම් කීපයකින් හැඳින්විය හැකි ය. ඒවායින් කිහිපයක් පහත දැක්වේ.

| අරාබි | නම | අර්ථය |
| --- | --- | --- |
| يَوْمُ الآخِرِ | යව්මුල් ආහිර් | අවසාන දිනය |
| يَوْمُ البَعْثِ | යව්මුල් බඃස් | නැඟිටුවනු ලබන දිනය |
| يَوْمُ الْقِيَامَةِ | යව්මුල් කියාමා | නැඟිට සිටින දිනය |
| يَوْمُ الحَشْرِ | යව්මුල් හෂ්ර් | එක්රැස් කරනු ලබන දිනය |

**අවසාන දිනයේ ප්‍රධාන සිදුවීම් කෙටියෙන් බලමු.**

අල්ලාහ්ගේ නියෝගයට අනුව ඉස්රාෆීල් අලෛයිහිස් සලාම්තුමා **ප්‍රථම සූර්** පිඹින්නේ ය. ඒ විගස අහස පොළොව හා ඒවායෙහි ඇති සියල්ල විනාශ වනු ඇත. එවිට අල්ලාහ් පමණක් ස්ථාවරව සිටිනු ඇත. දිගු කාලයකට පසුව නැවත වතාවක් අල්ලාහ් ඉස්රාෆීල් අලෛයිහිස් සලාම් තුමාණන් නැඟිටුවා **දෙවන සූර්** පිඹින ලෙස නියෝග කරයි.

ඒ සමග මරණයට පත් වූවෝ නැවත නැගිටිති. ඒ සියලු දෙනා **මහ්ෂර්** නමැති එළිමහනෙහි එක්රැස් කරනු ලබති. මහ්ෂර්හි තත්ත්වය ඉතාමත් භයානක වේ. සූර්යයා හිසට ඉහළින් ගෙන එනු ලැබේ. පාපීහු දරා ගත නොහැකි උණුසුමෙන් පීඩා විඳිති. අල්ලාහ්ගේ දයාව ලැබූවන් හට පමණක් සෙවණ ලැබේ.

ඉන් පසුව ප්‍රශ්න කිරීම ආරම්භ වේ. මෙය **හිසාබ්** නම් වේ. එම ප්‍රශ්න කිරීම්වලට පසුව ප්‍රතිඵල සටහන් ද පිරිනැමේ. කුසල් කළ තැනැත්තන්ට දකුණු අතෙහි ප්‍රතිඵල සටහන පිරිනමන අතර අකුසල් කළ තැනැත්තන්ට ප්‍රතිඵල සටහන වමතෙහි පිරිනැමේ. මෙලොව ජීවත් වන කාලයේ අපගේ සිතුවිලි කතා හා ක්‍රියා යනාදි සියල්ල එම සටහන්වල සඳහන් වී තිබේ.

එම ප්‍රතිඵල සටහන දකුණතෙහි ලබා ගත් තැනැත්තෝ ප්‍රීතියට පත් වෙති. අනෙක් අයට ද එය පෙන්වා සතුටට පත් වෙති. සටහන වමතෙහි ලබා ගත් තැනැත්තෝ කනගාටුවෙන් හා වේදනාවෙන් දුකට පත් වෙති. වමතට ප්‍රතිඵල සටහන ලැබුණු අය එය නොලැබී තිබුණහොත් කෙතරම් හොඳ දැයි දොඩවති. මේ සිදුවීම් මාලාව පිළිබඳ අල්කුර්ආනයේ පැහැදිලි ව සඳහන් වී ඇත.

ඒ සමග මිනිස්සු **සිරාත්** නම් පාලම පසුකර යති. එහි දී සියලු දෙනා තමා කළ යහ ක්‍රියාවල තරම අනුව ඉතා වේගයෙන් ද සෙමින් ද දණ ගසමින් ද තරණය කර එතෙර වීමට උත්සාහ කරති. පාපීහු එය පසුකර යෑමට නොහැකි ව නිරයට ඇද වැටෙති.

සිරාත් පාලම පසු කර ගිය තැනැත්තෝ ජයග්‍රාහකයෝ ය. ඔවුහු ස්වර්ගයට පිවිසෙති. ඔවුහු එහි සදාකාලිකව ම වෙසෙති. සිතා බැලීමට පවා නොහැකි මිහිරි දේ ඔවුහු එහි දී භුක්ති විඳිති.

එනිසා,

- **අපි ද අධික ලෙස කුසල් කර ස්වර්ගයට පිවිසීමට උත්සාහ දරමු.**
- **ස්වර්ගය ඉල්ලා අල්ලාහ්ගෙන් ප්‍රාර්ථනා කරමු.**

**අභ්‍යාස**

**පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.**

1. අවසාන දිනය යන පදයට අරාබි වචනය ලියන්න.
2. සූර් පිඹින මලක්වරයාගේ නම සඳහන් කරන්න.
3. අවසාන දිනයේ දී සිදුවන දේ සඳහන් කරන්න.
4. අවසාන දිනයේ දී සිදුවන සිදුවීම් 3ක් නම් කරන්න.
5. දෙවන සූර් පිඹීමෙන් පසු සිදු වන වැදගත් සිදුවීම් මොනවා ද?
6. ප්‍රශ්න කිරීමෙන් පසුව සතුටු වන්නේ කවුරුන් ද?

# 5 කළා කද්ර්

අපි වෙළඳසැල්වල විවිධ ඇසුරුම්වල ඇති භාණ්ඩ මිල දී ගන්නෙමු. ඇසුරුම්වල සටහන් කර ඇති කල් ඉකුත් වන දිනය තෙක් පමණක් එම භාණ්ඩ පාවිච්චි කළ හැකි බව ද ඉන් පසු එම භාණ්ඩ කල් ඉකුත් වී යන බව ද අපි දනිමු. භාණ්ඩ වල කල් ඉකුත් වීමේ දිනය සඳහන් කළ හැක්කේ කෙසේදැයි අපි සිතා බැලුවෙමු ද?

භාණ්ඩ නිෂ්පාදකයෝ තමන් නිෂ්පාදනය කරන භාණ්ඩ පිළිබඳව හොඳින් ම දනිති. එම භාණ්ඩය කල් ඉකුත් වන්නේ කවදා ද යන්න දැන එය ඊට පෙර ම සටහන් කිරීමට හැකි වූයේ එනිසා ය.

මෙලෙස ම මැවුම්කරුවාණන් වන අල්ලාහ් තමා මැවූ පණ ඇති හා පණ නැති යනාදි සියල්ල පිළිබඳව හොඳින් දැන සිටින්නේ ය. එනිසා ඔහු ඒ හා සම්බන්ධ සියලු කරුණු කාරණා කල් වේලා ඇතිව ලියා තබා ඇත්තේ ය. සියල්ල සිදු වන්නේ ඔහු ලියා තැබූ පරිදි ය. මෙලෙස ලියා තැබීම අල්ලාහ්ට ඉතා පහසු කටයුත්තකි.

විශ්වයේ ඇති මැවීම් වන හිරු, සඳු, අප ජීවත් වන පෘථිවිය සහ තාරකා යනාදියෙහි සෙලවීම්, ඒවායේ අවසානය යනාදිය අල්ලාහ් කල් වේලා ඇතිව ම ලියා ඇත්තේ ය.

කුඩා ගස්වල විශාල ගෙඩි ද විශාල ගස්වල කුඩා ගෙඩි ද අල්ලාහ් මැවීම් සිදු කර ඇත්තේ යම්කිසි සැලැස්මකට අනුව ය.



අව්ව, වැස්ස, සුළඟ, ඉඩෝරය, ස්වාභාවික ආපදා යනාදිය කවදා කොතැනක දී සිදුවේ ද යන්න පිළිබඳ අල්ලාහ් කල්තියා ම සඳහන් කර ඇත්තේ ය.

ජීවීන්ගේ උපත, මරණය, වර්ධනය, ඔවුන්ගේ ආහාරය යනාදිය කවදා කොතැන කොපමණ ද, යන්න ද අල්ලාහ් කල්තියාම සඳහන් කර ඇත්තේ ය. මිනිසුන්ට ඇති වන ලාභ අලාභ, දුක සැප හා ඔහුගේ ක්‍රියාකාරකම් සියල්ල ද අල්ලාහ් කල්තියාම සඳහන් කර ඇත්තේ ය.

අල්ලාහ් කල්තියා ම සඳහන් කර ඇති සියල්ල එලෙස ම සිදු වේ ය යන්න පිළිගැනීම 'කළා කද්ර් පිළිබඳ විශ්වාසය' යැයි හැඳින්වේ. මෙය ඊමානයේ හය වන කරුණ ය. කළා කද්ර් විශ්වාස නොකරන්නා මුඃමින් කෙනෙකු වන්නේ නැත.

දුක සැප රෝගී - නීරෝගී යන සියල්ල ද අල්ලාහ්ගේ සැලැස්ම අනුව ම සිදුවේ.

අල්ලාහ් 'කළා කද්ර්' සඟවා තබා ඇත්තේ ඇයි දැයි පහත දැක්වෙන උදාහරණය ඇසුරෙන් සිතා බලන්න.

ඔබ විභාගයක් ලිවීමට යන්නේ යැයි සිතමු. එම විභාගයෙන් ඔබ සමත් වීමට යන්නේ යැයි අල්ලාහ් ලියා ඇති බව ඔබ දැන ගන්නෙහි යැයි, සිතමු. එසේනම් ඔබ වෙහෙස මහන්සි වී පාඩම් කළ යුත්තේ ඇයි?

**එසේ නැතහොත්:**

ඔබ විභාගයෙන් අසමත් වන්නෙහි යැයි අල්ලාහ් කලින් ම ලියා ඇත්තේ ය, යන්න ඔබ දැන ගන්නෙහි යයි සිතා ගනිමු. එවිට ඔබ වෙහෙස මහන්සි වී පාඩම් කිරීමෙන් ඇති ඵලය කුමක් ද?



මිනිසුන් 'කළා කද්ර්' ගැන දැන ගන්නේ නම් ජය ලබන්නා ද උත්සාහ නොකරයි. පරාජය ලබන්නා ද උත්සාහ නොකරයි. කල්තියාම සිදුවන දේ පිළිබඳ දැන ගත් විට පිරිසක් සතුටු වන අතර තවත් පිරිසක් දුක් වනු ඇත. මෙමගින් මෙලොව මිනිසුන්ගේ සියලු ක්‍රියා අඩපණ වනු ඇත. අල්ලාහ් 'කළා කද්රය' මිනිසුන්ගෙන් සඟවා ඇත්තේ මිනිසුන් ඉපැයීමට ද කළ යුතු ක්‍රියාකාරකම් වලට අලස නොවීමට ද නිරන්තරව උත්සාහවන්තව කටයුතු කළ යුතුය යන්න ද පෙන්වීමටය.

අපට 'කළා කද්ර්' සඟවා තිබීම මගින් අල්ලාහ් ප්‍රධාන කරුණු 4 ක් හඟවන්නේ ය.

1. අපි නොකඩවා උත්සාහ කළ යුතු වෙමු.
2. අපි කළා කද්ර් පිළිගත යුතු වෙමු.
3. අල්ලාහ්ට ස්තුතිවන්ත විය යුතු වෙමු.
4. ඉවසීමෙන් සිටිය යුතු වෙමු.

**අප 'කළා කද්ර්' පිළිගන්නා විට.**

- සතුටුදායක අවස්ථාවල දී අල්ලාහ්ට ස්තුති කරන්නෙමු.
- කනගාටුදායක අවස්ථාවල දී අපි ඉවසීමෙන් දරා ගනිමු.
- එමගින් අපි අල්ලාහ්ගෙන් උසස් තත්ත්වයක් ලබා ගනිමු.

**අභ්‍යාස**

**පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.**

1. 'කළා කද්ර්' මගින් අවබෝධ වන්නේ කුමක් ද?
2. 'කළා කද්ර්ය' අල්ලාහ් සඟවා තැබීමට හේතුවක් දක්වන්න.
3. 'කළා කද්ර්ය' පිළිගැනීමෙන් ලැබෙන ප්‍රයෝජන 2ක් ලියන්න.
4. දුකට පත් වූ අවස්ථාවක දී අප ගත යුතු ක්‍රියා මාර්ග සඳහන් කරන්න.

# 6 අල් කුර්ආන්



අල්ලාහ් මිනිසුන්ට යහමඟ පෙන්වීම සඳහා ''ආගම්'' සහ ''සුහුෆ්'' පිරිනැමුවේ ය. ඒවා විශ්වාස කිරීම සැම මුස්ලිම්වරයකුගේ ම වගකීමක් වන්නේ ය. ඔහු පිරිනැමූ අවසන් ආගම ''අල් කුර්ආනය'' වේ. එය මෙලොව විනාශ වී යන තෙක් ස්ථිර ලෙස පවතින්නකි. එය ගැඹුරු දැනුමක් සහිත ආශ්චර්යයකි. එහි මහිමය අල් කුර්ආනය ද සුන්නාව ද ඉතා අධිකව පැහැදිලි කර ඇත්තේ ය.

සැබැවින් ම මෙම අල් කුර්ආනය ඉතා නිවැරදි දෑ වෙත මග පෙන්වන්නේ ය. (17:9)

"මිනිසුනි, නුඹලාගේ පරමාධිපතිගෙන් වූ උපදේශයක් හා සිත් තුළ ඇති දෑට නිවාරණයක් ද විශ්වාසිකයින්ට මඟ පෙන්වීමක් හා දයාවක් ද (වන අල් කුර්ආනය) නුඹලා වෙත පැමිණ ඇත." (10:57)

අල් කුර්ආනයේ මහිමය පිළිබඳව නබි සල්ලල්ලාහු අලෙයිහි වසල්ලම්තුමා පවසා ඇත්තේ ය.

"නියත වශයෙන් ම මෙම අල් කුර්ආනය අල්ලාහ්ගේ බලවත් කඹයක් ලෙස ද යහමඟ පෙන්වන ආලෝකයක් ලෙස ද ප්‍රයෝජන ගෙන දෙන ඖෂධයක් ලෙස ද වර්ණනා කර ඇත්තේ ය. එය ස්ථිර ලෙස අල්ලා ගන්නා තැනැත්තන්ට එය ආරක්ෂාව ද ලබා දේ. එය අනුගමනය කරන්නන්ට ජය ද ලබා දේ. නැමී ඇල වී ගිය දේ කෙළින් පිහිටුවයි. වැරදි දේ නිවැරදි කරයි. එහි ආශ්චර්යයන් නිමා නොවේ. නැවත නැවත පාරායනා කරන හේතුවෙන් එය ඉපැරණි වන්නේ ද නැත. එනිසා එය ඔබ පාරායනා කරමින් සිටින්න. එහි සෑම අක්ෂරයකට ම ඔබට කුසල් දහයක් හිමි වේ." (හාකිම්).

මෙතරම් මහිමයෙන් යුත් අල් කුර්ආනය ශබ්දය මගින් ද අක්ෂර මගින් ද ආරක්ෂා කරමින් පැමිණ ඇත. මිනිස් සිත් හා මුස්හෆ්වල ද (පුස්තකවල) සටහන් කරමින් කිසිදු වෙනස් වීමකින් තොරව පැවතීම ද එහි විශේෂ මහිමයන් ය.

අල් කුර්ආනය මුහම්මද් සල්ලල්ලාහු අලෛයිහි වසල්ලම්තුමාණන්ට අල්ලාහ් වෙතින් ජිබ්රීල් අලෛයිහිස් සලාම්තුමා මගින් අවස්ථාවට අනුකූලව කොටස් වශයෙන් පහළ විය.

සහාබාවරු එය කට පාඩමින් ද ක්‍රියාවට නංවමින් ද ලියා තබමින් ද ආරක්ෂා කළෝ ය.



නබි සල්ලල්ලාහු අලෛයිහි වසල්ලම්තුමාණන් ජීවත්ව සිටි කාලයේ අල් කුර්ආනය පහළ වෙමින් තිබූ නිසා එය මුළුමනින් ම ග්‍රන්ථාරූඪ කරනු නොලැබිණි. කලීෆා අබූබක්ර් රලියල්ලාහු අන්හුතුමාගේ පාලන කාලයේ අල් කුර්ආනය කට පාඩම් කළ හාෆිල්වරු සටන්වල දී වීර මරණයට පත් වූවෝ ය. එය දුටු උමර් රලියල්ලාහු අන්හුතුමා එය එක්රැස් කර ග්‍රන්ථාරූඪ කිරීමේ අවශ්‍යතාව කලීෆාතුමාට යෝජනා කළේ ය. එය පිළිගත් අබූබක්ර් රලියල්ලාහු අන්හුතුමා අල් කුර්ආනය ග්‍රන්ථාරූඪ කිරීමේ කර්තව්‍යය සයිද් ඉබ්නු සාබිත් රලියල්ලාහු අන්හුතුමාගේ නායකත්වය යටතේ සිදු කිරීමට නියම කළේ ය. එතුමා එම සේවය අතිසාර්ථක ලෙස නිමා කළේ ය.

කලීෆා උස්මාන් රලියල්ලාහු අන්හුතුමාගේ කාලයේ නොයෙකුත් රටවල් සහ ගෝත්‍රිකයෝ ඉස්ලාම් දහම වැළඳ ගත්තෝ ය. අල් කුර්ආනය පාරායනය කිරීමේ දී ඔවුන් තුළ යම් යම් වෙනස්කම් දක්නට ලැබිණි. සෑම කණ්ඩායමක් ම තමන් පාරායනා කරන ආකාරය නිවැරදි යැයි තර්ක කිරීමට පෙළඹුණෝ ය. මේ හේතුවෙන් මුස්ලිම්වරුන් අතර මතභේද ඇති වීමට පටන් ගැනිණි. මෙය දුටු හුදෙයිෆා ඉබ්නු යමානි රලියල්ලාහු අන්හුතුමා කලීෆා උස්මාන් රලියල්ලාහු අන්හුතුමා වෙත මෙමගින් මුස්ලිම් උම්මත් භේද විය හැකි බවට අනතුරු ඇඟවූයේ ය.

කලීෆා උස්මාන් රලියල්ලාහු අන්හුතුමා මෙහි බැරෑරුම්කම වටහා ගත්තේ ය. එතුමා සෙයිද් ඉබ්නු සාබිත් රලියල්ලාහු අන්හුතුමාගේ නායකත්වයෙන් යුත් කණ්ඩායමක් පත් කර අබූබක්ර් රලියල්ලාහු අන්හුතුමාගේ කාලයේ ග්‍රන්ථාරූඪ කළ පළමු පිටපත බලා පිටපත් ගණනාවක් ලියන මෙන් නියෝග කළේ ය. ඒවා බොහෝ රටවලට යැව්වා පමණක් නොව එය පාරායනය කරන ආකාරය කියා දීම සඳහා කාරිවරුන් ද පිටත් කර යැව්වේ ය. ඔවුහු තමන් ගමන් කළ ප්‍රදේශවල ජනතාව එක ම ආකාරයෙන් අල් කුර්ආනය පාරායනය කිරීමට කියා දුන්නෝ ය. මෙමගින් ඔවුහු මුස්ලිම්වරුන් අතර අල් කුර්ආනය පාරායනය කිරීමේ ඒකාකාර භාවයක් ඇති කළෝ ය.

මෙනිසා කලීෆා උස්මාන් රලියල්ලාහු අන්හුතුමා **ජාමිඋල් කුර්ආන්** යැයි අමතනු ලැබුවේ ය.

**අභ්‍යාස**

**පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.**

1. අල් කුර්ආනය ගොනු කිරීමට උපදෙස් ලබා දුන්නේ කවුරුන් ද?
2. අල් කුර්ආනය ගොනු කිරීමේ සේවයට නායකත්වය දුන්නේ කවුරුන් ද?
3. හාෆිල්වරු යනු කවුරුන් ද?
4. අල් කුර්ආනය ආරක්ෂා කිරීමට ගත් ක්‍රියා මාර්ග 2ක් ලියන්න.
5. අල් කුර්ආනයේ විශේෂිත කරුණු 2ක් ලියන්න.

# 7 සූරතුල් අස්ර්

අල්ලාහ් අපට දායාද කළ දහම වන අල් කුර්ආනයේ මහිමය අපි ඉගෙන ගන්නෙමු. එහි දේශන කීපයක් හැඳෑරීම සඳහා අපි සූරතුල් අස්ර් නම් පරිච්ඡේදය දෙස අවධානය යොමු කරමු.

මෙම සූරතුල් අස්ර් නම් පරිච්ඡේදය මක්කාවේ පහළ විය. එය ආයත් තුනකින් සමන්විත සූරාවකි. මෙහි පළමු වැකියේ සඳහන් වන ''අල් අස්ර්'' නම් වචනය මෙම සූරාවේ නාමය ලෙස පවතියි. පොදුවේ මෙම ''අල් අස්ර්'' නම් වචනය 'කාලය' යන අරුත දෙන්නේ ය. අපි මෙම සූරාව හා එහි අරුත ඉගෙන ගනිමු.

بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ

وَالْعَصْرِ ① إِنَّ الْإِنْسَانَ لَفِي خُسْرٍ ② إِلَّا الَّذِينَ

آمَنُوا وَعَمِلُوا الصَّالِحَاتِ وَتَوَاصَوْا بِالْحَقِّ وَ

تَوَاصَوْا بِالصَّبْرِ ③

සැමට කරුණාභරිත පරම කරුණාභරිත අල්ලාහ්ගේ නාමයෙන් ආරම්භ කරමි.

1. කාලය මත දිවුරමින්
2. සැබැවින් ම මිනිසා අලාභයෙහි ය.
3. (නමුත්) විශ්වාස කළා වූ ද යහකම් කළා වූ ද එකිනෙකාට සත්‍යය පිළිබඳව උපදෙස් දුන්නා වූ ද ඉවසීම පිළිබඳව උපදෙස් දුන්නා වූ ද අය හැර.

මෙම සූරාව මිනිස් ජීවිතයේ ජයග්‍රහණයේ මාවත කුමක් දැයි ඉතා කෙටියෙන් කියා දෙන්නේ ය. මේ හේතුවෙන් ඉමාම් ෂාෆිඊ රහ්මතුල්ලාහි අලෙයිහිතුමා, 'මිනිසුන් මෙම සූරාව පිළිබඳ සිතා බැලුවහොත් ඔවුන්ට යහ මඟ කියා දෙන්න එය ම ප්‍රමාණවත් වේ යැයි පවසා ඇත්තේ ය. මෙය මෙම සූරාවේ වැදගත්කම ඉතා මැනවින් පෙන්වා දෙයි.

අද මිනිසා තත්පරය පවා ප්‍රවේශමෙන් භාවිත කර නොයෙක් වාර්තා තබා ඇති බව අපට දැක ගත හැකි ය.

කාලයේ වැදගත්කම වටහා ගෙන එය හරියාකාරව උපයෝගී කර ගන්නට මිනිසා අසමත් වුවහොත් ඔහුට විශාල අලාභයකට මුහුණ දීමට සිදුවේ. මිනිසා අල්ලාහ් පෙන්වා දුන් ආකාරයට කාලය උපයෝගී කරගත හොත් ඔහුගේ කෙටි ආයු කාලය මගින් මෙලොව හා පරලොව ජයග්‍රහණය ලබා ගත හැකි ය. එනිසා අප යහකර්ම කිරීම සඳහා අපගේ කාලය උපයෝගී කර ගත යුතු ය. එය නාස්ති වී යාමට ඉඩ නොදිය යුතු ය.

මිනිසා කෙබඳු ගුණාංග ආරක්ෂා කර ගත යුතු ද යන්න තුන් වන වාක්‍යයේ සඳහන් වන්නේ ය. ඒවා අතරින් මුලින් ම (ඊමාන්) සහ යහකර්ම තිබිය යුතු ය. අල්ලාහ් කෙරෙහි තිබෙන විශ්වාසය හෙවත් ඊමාන් මිනිසාගේ බාහිර හා අභ්‍යන්තර ජීවිතය හැඩ ගස්වන්නේ ය. (ඊමානය හා යහකර්ම එකක් අනෙකෙන් බෙදා වෙන් නොවී එකට බැඳී තිබිය යුතු ය) යහකර්ම යනු ඊමාන් නම් ගසෙහි ඵලදාව වන්නේ ය.

ගසක් අප හඳුනා ගන්නේ එය ලබා දෙන ඵලයෙනි. එලෙස ම ඊමානයේ පාරිශුද්ධත්වය හඳුනා ගන්නේ යහක්‍රියා මගිනි. ජය ලබාගැනීමේ තවත් ගුණාංගයක් වන්නේ සත්‍යය හා ඉවසීම මගින් කෙනකු තවත් කෙනකුට උපදෙස් දීම ය. ඊමානයේ හා යහකර්මවල සුවය විඳින මුස්ලිම්වරයකු තම සුවය අන් අයට ද බෙදා දෙන්නකු විය යුතු ය. ඔහු තම වටපිටාවේ සිටින්නන්ට ඊමානය පිළිබඳව හා යහක්‍රියා කිරීම පිළිබඳව පවසන්නකු ලෙස ද නරක වළක්වන්නකු ලෙස ද සිටිය යුතු ය.

එනිසා අපි අපගේ,

- ▲ **ආයුෂ කාලය ජයග්‍රහණයේ මාවතක් ලෙස පත් කර ගනිමු.**
- ▲ **අල්ලාහ් කෙරෙහි විශ්වාසය තබා යහකර්මවල නිරත වෙමු.**
- ▲ **ඊමානය හා යහකර්ම පිළිබඳව අන් අයට ද කියා දෙමු.**

**අභ්‍යාස**

**පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.**

1. සූරතුල් අස්ර් පහළ වූයේ කොතැන ද? එහි වාක්‍ය කීයක් තිබේ ද?
2. මිනිසා අලාභයෙන් බේරී ජය ලබා ගත යුතු නම් ඔහු වෙත තිබිය යුතු ගුණාංග සතර මොනවා ද?
3. ඉමාම් ෂාෆිඊ රහ්මතුල්ලාහි අලෙයිහිතුමා සූරතුල් අස්ර් පිළිබඳ කුමන අදහසක් පවසා ඇත් ද?
4. 'සත්‍යය පිළිබඳව එකිනෙකාට උපදෙස් දුන්නා වූ' යන තේරුම් දෙන අල් කුර්ආන් වැකිය සූරතුල් අස්ර්හි කීවැනි වැකිය ද?

# 8 සූරතුන් නස්ර්

සූරතුන් නස්ර් මුස්ලිම් වන අප සැම හොඳින් දන්නා හා කටපාඩම් ඇති කුඩා සූරාවකි. සූරතුන් නස්ර් පරිච්ඡේදය මදනි සූරාවකි. එය ආයත තුනකින් සමන්විත ය. එම සූරාවේ පළමු වැකියේ සඳහන් වන **''නස්ර්''** යන වචනය මගින් මෙම සූරාව නම් කෙරී ඇත. මෙහි තේරුම **'උපකාරය'** වේ. මෙය සම්පූර්ණ වශයෙන් පහළ කරනු ලැබූ සූරාවන්ගෙන් අවසන් සූරාව වන්නේ ය. මෙම සූරාවට පසුව කිසිදු සූරාවක් සම්පූර්ණ වශයෙන් පහළ නොවී ය. දැන් අපි මෙම සූරාව හා එහි අර්ථය දෙස අවධානය යොමු කරමු.

بِسْمِ اللّٰهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ○

إِذَا جَآءَ نَصْرُ اللّٰهِ وَالْفَتْحُ ① وَرَأَيْتَ النَّاسَ يَدْخُلُوْنَ فِيْ

دِيْنِ اللّٰهِ أَفْوَاجًا ② فَسَبِّحْ بِحَمْدِ رَبِّكَ وَاسْتَغْفِرْهُ

إِنَّهٗ كَانَ تَوَّابًا ③

සැමට කරුණාභරිත පරම කරුණාභරිත අල්ලාහ්ගේ නාමයෙන් ආරම්භ කරමි.

1. (නබිවරය) අල්ලාහ්ගේ උපකාරය හා ජයග්‍රහණය පැමිණි කල්හි
2. තව ද අල්ලාහ්ගේ දහම තුළට මිනිසුන් කණ්ඩායම් වශයෙන් පිවිසෙනු නුඹ දකිනු ඇත.
3. එවිට නුඹගේ පරමාධිපතිව ප්‍රශංසා කිරීමෙන් පිවිතුරු කරවු. තව ද ඔහුගෙන් සමාව අයැදිවු. සැබැවින් ම ඔහු පාපොච්චාරණය නිරතුරුව පිළිගන්නා වේ.

මෙම සූරාව හිජ්රි දස වන වසරේ දුල් හජ් මාසයේ අයියාමුත් තෂ්රීක් දිනයන්හි එක් දිනයක මිනාවේ දී පහළ විය. මෙය පහළ වූ අවස්ථාවේ දී 'මට මාගේ මරණය පිළිබඳ දන්වන ලදි. මාගේ ආයු කාලය අවසන් විය' (මුස්නද් අහ්මද්) යැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම්තුමාණෝ පැවසූහ.

මෙම සූරාව පහළ වීමෙන් පසුව මුහම්මද් සල්ලල්ලාහු අලෙයිහි වසල්ලම්තුමාණෝ මාස තුනක් පමණක් ජීවත් වූවෝ ය. මෙනිසා මෙම සූරාව **සූරතුත් තව්දීඃ** (සමුගැනීමේ පරිච්ඡේදය) යැයි ද හැඳින්වේ.

අල්ලාහ්ගේ උදවු උපකාරය සහ ජය ලැබේ ය යන්න ද ජනයා කණ්ඩායම් වශයෙන් ඉස්ලාමයට ඇතුළු වෙති යන සුභාරංචිය ද මෙම සූරාව දන්වයි. අල්ලාහ්ගේ උපකාරය සහ ඔහු පිරිනැමූ ජයග්‍රහණය යනු ඔහු වෙතින් පැමිණි දායාද වේ. මෙය අල්ලාහ්ගේ උපකාරය මඟින් හිමි වූවක් බව මෙම සූරාවේ සඳහන් 'නස්රුල්ලාහ්' (අල්ලාහ්ගේ උපකාරය) යන වචනය පිළිබිඹු කරයි.

මිනිසාට ජය සහ උදවු ලැබෙන විට ඔහු තම ස්වාමියා අමතක නොකළ යුතු ය. උඩඟු වීම හෝ මමත්වය ඇති නො විය යුතු ය. එසේ නොවී මේවා ලබා දුන් අල්ලාහ්ට ප්‍රශංසා කළ යුතු ය. ඔහු පිවිතුරු කළ යුතු ය. ඔහු වෙතින් ම පාපොච්චාරණය කළ යුතු ය යන්න ද මෙම සූරාව කියා දෙයි.

මෙම සූරාව පහළ වූවායින් පසුව නබි සල්ලල්ලාහු අලෙයිහි වසල්ලම් තුමාණෝ **'සුබ්හානල්ලාහි වබිහම්දිහී අස්තඃග්ෆිරුල්ලාහ් වඅතූබු ඉලෙයිහි'** යන ප්‍රාර්ථනාව වැඩි වශයෙන් පාරායනය කරන්නකු ලෙස සිටියහ (මුස්නද් අහ්මද්). මෙහි අර්ථය අල්ලාහ්ට ප්‍රශංසා කර ඔහු පිවිතුරු කරමි. අල්ලාහ් වෙත පාපොච්චාරණය කරමි යන්න ය.

එනිසා අපි,

- ජයග්‍රහණය කරන විට අල්ලාහ්ට ප්‍රශංසා කරමු - අල්හම්දු ලිල්ලාහ්
- ඔහු ලබා දුන් දායාදයන්ට ස්තෝත්‍ර කරමු - සුබ්හානල්ලහ්
- ඔහුගෙන් වැඩි වැඩියෙන් පවු කමා කරගනිමු - අස්තඃෆිරුල්ලහ්

**අභ්‍යාස**

**පහත සඳහන් වගන්ති හරි නම් (✓) ලකුණ ද වැරදි (×) නම් ලකුණ ද වරහන් තුළ යොදන්න.**

1. සූරතුන් නස්ර් මක්කී සූරාවකි. ( )
2. නස්ර් යන්නෙහි අර්ථය ජයග්‍රහණය වේ. ( )
3. මෙම සූරාවට පසුව කිසිදු සූරාවක් සම්පූර්ණ වශයෙන් පහළ නොවී ය. ( )
4. සූරතුත් නස්රයට සූරතුත් තව්දීඃ යන නම ද ඇත. ( )
5. 'නස්රුල්ලාහ්' යන්නෙහි අර්ථය අල්ලාහ්ගේ දායාදය වේ. ( )

# 9 අර්කානුල් ඉස්ලාම්
## (ඉස්ලාම් දහමේ යුතුකම්)

වරක් නබි සල්ලල්ලාහු අලෛයිහි වසල්ලම්තුමා හා එතුමාගේ සගයින් වන සහාබාවරුන් සිටි සභාවට කෙනෙක් පැමිණියේ ය. ඔහු නබි සල්ලල්ලාහු අලෛයිහි වසල්ලම්තුමා ඉදිරියේ ඉතා සමීප විය. ඔහු නබි සල්ලල්ලාහු අලෛයිහි වසල්ලම්තුමාගෙන් ප්‍රශ්න කිහිපයක් ඇසුවේ ය. එතුමාණෝ ද පිළිතුරු ලබා දුන්හ. අවසානයේ නබි සල්ලල්ලාහු අලෛයිහි වසල්ලම්තුමා හමුවට පැමිණි තැනැත්තා සමහර කරුණු නබිතුමාණන්ට කියා දී පිට ව ගියේ ය.

එවිට නබි සල්ලල්ලාහු අලෛයිහි වසල්ලම්තුමාණෝ 'දැන් ඔබ ඉදිරියට පැමිණ ගියේ කවුදැයි ඔබ දන්නෙහු ද?' යැයි සහාබාවරුන්ගෙන් විමසුවෝ ය. එයට සහාබාවරු 'අල්ලාහ් සහ ඔහුගේ දූතයාණෝ දනිති' යැයි පිළිතුරු දුන්නෝ ය. 'ඔහු වෙන කවුරුන් හෝ නොවේ ඒ මලක්වරුන්ගේ නායක ජිබ්රීල් අලෛයිහිස් සලාම්තුමා වන්නේ' යැයි පැවසූහ. 'ඔහු ඔබට ඔබගේ ආගම පිළිබඳ බොහෝ දේ කියා දීම සඳහා මෙසේ පැමිණ ගියේ' යැයි පැවසූහ.

එතුමා ඇසූ ප්‍රශ්නවලින් එක් ප්‍රශ්නයක් නම් ඉස්ලාම් යනු කුමක් ද? යන්න වේ. එම ප්‍රශ්නයට නබි සල්ලල්ලාහු අලෛයිහි වසල්ලම්තුමාණන්ගේ පිළිතුර පහත පරිදි වූයේ ය.

''ඉස්ලාම් යනු **නැමදීමට සුදුස්සා අල්ලාහ් හැර අන් කිසිවකු නොවේ යැයි ද මුහම්මද් සල්ලල්ලාහු අලෛයිහි වසල්ලම්තුමා අල්ලාහ්ගේ දූතයා යැයි ද සාක්ෂ්‍ය දැරීම, සලාතය ඉටුකිරීම, සකාතය දීම, රමලාන් මාසයේ උපවාසයෙහි යෙදීම, හැකියාව ඇත්තන් හජ් නැමදුම ඉටු කිරීම.**''

ඉහත සඳහන් දෙය පාසල්, දහම් පාසල් ආදි ආගමික පන්තිවල ඉගෙන ගන්නා ''බුනියල් ඉස්ලාම්'' යන අරාබි වැකි පැහැදිලි කරයි. එම අරාබි වැකි හා එහි තේරුම පහත සඳහන් වේ.

بُنِيَ الْإِسْلَامُ عَلَى خَمْسٍ شَهَادَةُ أَنْ لَا إِلٰهَ
إِلَّا اللّٰهُ وَأَنَّ مُحَمَّدًا رَسُولُ اللّٰهِ وَإِقَامُ الصَّلٰوةِ
وَإِيتَاءُ الزَّكَاةِ وَصَوْمُ رَمَضَانَ وَحَجُّ الْبَيْتِ
مَنِ اسْتَطَاعَ إِلَيْهِ سَبِيلًا.

**බුනියල් ඉස්ලාමු අලා හම්සින් ෂහාදතු අන් ලාඉලාහ ඉල්ලල්ලාහු වඅන්න මුහම්මදර් රසූලුලාහි වඉකාමුස්ස්සලාති වර්තාඋස් සකාති වසව්මු රමලාන වහජ්ජුල් බයිති මනිස්තතාඅ ඉලයිහි සබීලා**

**ඉස්ලාම් කරුණු පහක් මත ගොඩනැගී ඇත.**

1. සාක්ෂ්‍ය කීම. (ෂහාදා) නැමදීමට සුදුස්සා අල්ලාහ් හැර වෙන කිසිවකු නොමැත. මුහම්මද් සල්ලල්ලාහු අලෙයිහි වසල්ලම්තුමාණන් අල්ලාහ්ගේ දූතයා වන්නේ යැයි සාක්ෂ්‍ය කීම.

2. සලාතය ඉටු කිරීම.

3. සකාත් දීම.

4. රමළාන් මාසයේ සවුමය රැකීම.

5. පහසුකම් ඇති අය හජ් ඉටු කිරීම.

මේ අනුව ඉහත කරුණු ඉගෙන ගත් අපි,

- ▲ **ඒවා අපේ ජීවිතයේ ද පිළිපදිමු.**
- ▲ **සත්‍ය මුස්ලිම්වරයකු ලෙස ජීවත් වී අල්ලාහ් වෙතින් අතිමහත් කුසලයක් ලබා ගනිමු.**

**අභ්‍යාස**

**පහත ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.**

1. ඉස්ලාමයේ යුතුකම් කීයක් තිබේ ද?
2. අප උපවාසය රැකිය යුත්තේ කුමන මාසයේ ද?
3. සාක්ෂ්‍ය දැරීම යන තේරුම දෙන අරාබි පදය කුමක් ද?
4. නබි සල්ලල්ලාහු අලෙයිහි වසල්ලම්තුමාණන් වෙත පැමිණියේ කවරකු ද?

**ක්‍රියාකාරකම**

"බුනියල් ඉස්ලාම්" යැයි ආරම්භ වන අරාබි වචන මාලාව හා එහි අර්ථය කට පාඩම් කරන්න.

# 10 සලාතය

ඉස්ලාමයේ මූලික යුතුකම්වලින් සලාතය දෙවන යුතුකම වේ. ඉස්ලාමය වැලඳ ගත් අය මුලින් ම ඉටු කළ යුතු යුතුකම වන්නේ මෙම සලාතය යි. "සැබවින් ම සලාතය විශ්වාස කළ අයට වේලාවක් නියම කරන ලද අනිවාර්ය වූවක් වන්නේ ය" (4:103) යනුවෙන් අල් කුරානයේ සඳහන් වේ

සලාතය පෙර සිටි නබිවරුන් කෙරෙහි ද ඔවුන්ගේ ජනතාව කෙරෙහි ද යුතුකමක් විය. එම නබිවරු සලාතය ඉටු කරමින් පැමිණියා පමණක් නොව තම සමූහයාට ද සලාතය ඉටු කරන ලෙස අණ කළෝ ය. නබි ඉබ්රාහීම් අලෙයිහිස් සලාම්තුමා, නබි ෂුඅයිබ් අලෙයිහිස් සලාම්තුමා, නබි මූසා අලෙයිහිස් සලාම්තුමා, නබි හාරූන් අලෙයිහිස් සලාම්තුමා, නබි සකරියියා අලෙයිහිස් සලාම්තුමා, නබි ඊසා අලෙයිහිස් සලාම්තුමා, යනාදි අය තම සමූහයාට සලාතය ඉටු කරන ලෙස අණ කළ බව අල් කුර්ආනයේ සඳහන් වේ. නබිවරුන් සියලු දෙනා තම සමූහයාට සලාතය පිළිබඳව දේශනා කිරීම මගින් එහි වැදගත්කම මනා ලෙස නිරූපණය වේ.



තව ද සලාතය මිනිසුන්ගේ මෙලොව හා පරලොව ජීවිතයේ දියුණුවට මග සලසා දෙයි. අල් කුර්ආනය, ජය ලබා ගත් මුඃමින්වරයකුගේ ලක්ෂණ සඳහන් කරන විට මුලින් ම සඳහන් කරන්නේ සලාතය පිළිබඳව ය.

"සැබවින්ම විශ්වාසිකයෝ ජයග්‍රහණය ලැබුවෝ ය. ඔවුහු කවරහු ද යත් තම සලාතයෙහි අල්ලහාට බියෙන් නැඹුරු වන්නෝ වෙති" (23:1-21)

"සලාතය ස්වර්ගයේ යතුර වේ. කවරෙක් උදේ සවස (සලාත් කිරීම සඳහා) මස්ජිදයට ගොස් පැමිණේ ද ඒ සෑම විටම අල්ලාහ් ඔහුට ස්වර්ග යේ උසස් ස්ථානයක් පිළියෙල කරයි" (බුහාරි). යැයි නබි සල්ලල්ලාහු අලෙයිහි වසල්ලම්තුමාණෝ පැවසූහ.

මුස්ලිම්වරයෙක් සලාතය ඉටු කිරීම මගින් බොහෝ ප්‍රයෝජන ලබා ග න්නේ ය. ඔහුගේ සුළු පාප කමා කෙරේ. සලාතය ඉටු කිරීමට යෑම වෙනුවෙන් තබන සෑම පියවරක් සඳහා ම ඔහුගේ පාපයක් බැගින් මැකී යන්නේ ය. ඔහු වුලූඃ කරන විට සෑම අවයවයකින් ම, ඒවා මගින් සිදුවූ පාප කමා කෙරෙන්නේ ය.

"පස්වේල් සලාතය ඉටු කිරීම යනු ඔබගේ නිවස ඉදිරියේ ගලන ගංගාවක ඔබ සෑම දා පස් වතාවක් නෑම වැනිය" (මුස්ලිම්) යැයි නබි සල්ලල්ලාහු අලෙයිහි වසල්ලම්තුමාණෝ පැවසූහ.

තව ද සලාතය මිනිසා විනයගරුක පුද්ගලයකු කරවන්නේ ය. පාප කර්ම සහ අයහපත් ක්‍රියාවන්ගෙන් වළකාලන්නේ ය. ''අල්ලාහ් තමන් වෙත නිරතුරුව ම අවධානය යොමු කරමින් සිටින්නේ ය'' යන අල්ලාහ් කෙරෙහි වූ භක්තිවන්ත හැඟීම පාපයන්ගෙන් වැළකී ජීවත් වීමට මග සලසන්නේ ය.

''සැබැවින් ම සලාතය නින්දා සහගත හා පිළිකුල් සහගත දැයින් වළකාලන්නේය'' (29:45)

මීට අමතරව සලාත් ඉටු කරන්නාට නිතර මලක්වරුන්ගේ දුආ ලැබෙන්නේ ය. සලාත් කරන්නා සිත් සැනසුම ලබා ගන්නේ ය. නීරෝගීභාවය, කලට වේලාවට වැඩ කරන පුරුද්ද ද ඇති වන්නේ ය.

මෙසේ සලාතයේ මහිමය ද මහත් වූ ප්‍රයෝජන ගැන ද ඉගෙන ගත් අපි මෙලොව හා පරලොවෙහි ජයග්‍රහණය ලබා ගැනීම සඳහා සලාතය සුරකිමින් පිළිපදිමු.

**අභ්‍යාස**

**පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.**

1. සලාතය පිළිබඳ ඔබ ඉගෙන ගත් අල් කුර්ආන් වැකියක් හා හදීස් එකක් සිංහල භාෂාවෙන් ලියන්න.
2. සලාත් කිරීමෙන් ලැබෙන ප්‍රයෝජන තුනක් ලියන්න.
3. සලාත් ඉටු කරන ලෙස අණ කළ පෙර නබිවරුන් පස් දෙනකු නම් කරන්න.

# 11 සකාත්

සකාතය ඉස්ලාමයේ තුන්වන යුතුකම වන්නේ ය. 'සකාත්' යන්නෙහි අර්ථය පාරිශුද්ධතාව, දියුණුව, සංවර්ධනය යනාදිය වේ. මෙය ඉටු කිරීම මගින් සකාතය දෙන්නාගේ ආර්ථිකය වර්ධනය වන්නේ ය. ඔහුගේ ධනය ද සුරක්ෂිත වන්නේ ය. ඔහුගේ සිත ද පිරිසිදු වන්නේ ය.

මෙම යුතුකම මඟින් මිනිස් සමාජයේ එකිනෙකා පිළිබඳ කෙතරම් අවධානයක් යොමු කෙරේ ද යන්න පිළිබිඹු කරයි.



අල්ලාහු තආලා සකාතය පිළිබඳව අල් කුර්ආනයේ බොහෝ ස්ථානවල මෙසේ සඳහන් කර ඇත්තේ ය.

"කවරෙක්, අල්ලාහ් තම වරප්‍රසාද මහින් තමන් හට පිරිනැමූ දෑ පිළිබඳව මසුරුවන්නේ ද එය තමන්ට යහපත් යැයි නොසිතිය යුතු ම ය. එය ඔවුනට අයහපතක්වම පවතියි. ඔවුහු කවර දෙයක් කෙරෙහි මසුරු වූවේ ද (මළවුන්) නැඟිටුවනු ලබන දිනයේ දී එය ඔවුන්ගේ ගෙල වටා (ගිනි වලල්ලක්සේ) දමනු ලැබේ. (3:180)

අල්ලාහ් අල් කුර්ආනයේ බොහෝ ස්ථාන වල සලාතය හා සම්බන්ධ කර සකාතය සඳහන් කර ඇත්තේ ය. සකාතය, සලාතය හා සම්බන්ධ කර සඳහන් කර තිබීම ම එහි විශේෂත්වය හා වැදගත්කම ගෙන හැර දක්වයි.

"සලාතය ස්ථිරව ම ඉටුකරවු. සකාතය පිරිනමවු." (2:110)

සකාතය පිළිබඳව සුන්නාවෙහි ද සඳහන් කර ඇත.

"සකාතය ඉටු කිරීම මගින් ඔබ ඔබගේ ධන සම්පත් රැක ගන්න."
(අබූ දාවූද්)

"සකාතය නොදී (තමන් ව) වළකා ගන්නා සමූහයින්ව අල්ලාහ් සාගතය මගින් පරීක්ෂා කරයි" (තබරානි)

**සකාතය ක්‍රමානුකූලව ඉටු කිරීම මගින් ප්‍රයෝජන රාශියක් ලැබෙන්නේ ය. එයින් කිහිපයක් පහත පරිදි ලැයිස්තු ගත කළ හැක.**

1. අල්ලාහ්ගේ දයාව හා ආරක්ෂාව ලැබෙන්නේ ය.
2. සමාජයේ ආර්ථික පරතරය අඩු වන්නේ ය.
3. ධන සම්පත් වර්ධනය වන්නේ ය.
4. මිනිසුන් අතර ආදරය හා කරුණාව උදා වී සතුරුකම හා ක්‍රෝධය ඉවත් වන්නේ ය.
5. දුෂ්ට ක්‍රියා මර්දනය වන්නේ ය.
6. මිනිසුන් ප්‍රිය කරන සාමකාමී සමාජයක් බිහි වන්නේ ය.

එනිසා,

- **මෙම යහ කටයුත්ත හරියාකාරව, ක්‍රමානුකූලව ඉටු කිරීමට උපකාරී වෙමු.**
- **සකාතය බෙදා දෙන්නන්ගේ හා ලබන්නන්ගේ ජීවිත සාරවත් වන්නට ප්‍රාර්ථනා කරමු.**

**අභ්‍යාස**

**පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.**

1. සකාතය ඉස්ලාමයේ කී වන වගකීම ද?
2. සකාත් යන වචනයේ අර්ථය කුමක් ද?
3. සකාතයේ විශේෂ ලක්ෂණ දෙකක් ලියන්න.
4. සකාතය ක්‍රමානුකූලව ඉටු කිරීමෙන් ලැබෙන ප්‍රයෝජන 5ක් නම් කරන්න.

# 12 උපවාසය

ඉස්ලාමයේ මූලික යුතුකම්වලින් සතර වැන්න උපවාසයයි. මෙය **''අස් සව්ම්''** යැයි අමතනු ලබන්නේ ය. මෙම යුතුකම ඉස්ලාමීය දින දර්ශනයේ 9 වන මාසය වන රමළාන් මාසයේ ඉටු කෙරේ.

"රමළාන් මාසය කෙබඳු මාසයක් ද කිවහොත් මිනිසාට ඍජු මාර්ගය පැහැදිලි ලෙස පෙන්නුම් කරන, හොඳ නරක වෙන්කර දැන ගැනීම සඳහා වූ අල් කුර්ආනය පහළ වූ මාසයයි. එබැවින් ඔබ අතරින් කවරෙකු එම මාසය හිමිකර ගන්නේ ද ඔහු එහි උපවාසයේ යෙදෙත්වා" අල් කුර්ආන් (2:185)

රමළාන් මාසය උපවාසයේ යෙදෙන මාසය වශයෙන් ද අල් කුර්ආනය පහළ වූ මාසය වශයෙන් ද විශේෂත්වයක් ගනියි.

මෙම මාසය පිළිබඳව නබි සල්ලල්ලාහු අලෛයිහි වසල්ලම්තුමාණෝ පහත පරිදි පවසා ඇත්තෝ ය. රමළාන් මාසයේ මාගේ උම්මත්වරුන්ට විශේෂ ලක්ෂණ පහක් පිරිනමනු ලබන්නේ ය. ඒවා අපට පෙර සිටි කිසිදු නබිවරයකුට පිරිනැමුවේ නැත.

1. රමළාන් මස පළමු රාත්‍රියේ අල්ලාහ් උපවාසයෙහි යෙදෙන්නන් දෙස (රහ්මත් හි බැල්මෙන්) බලන්නේ ය. මෙලෙස අල්ලාහ් කවරකු දෙස බලන්නේ ද ඔහු අල්ලාහ්ගේ වේදනාවට ලක් නොවන්නේ ය.

2. උපවාසයෙහි නිරත වන්නන්ගේ මුඛයෙන් පිටවන දුගඳ අල්ලාහ් වෙත කස්තුරිවලටත් වඩා සුවඳවත් දෙයක් ලෙස පවතින්නේ ය.

3. රමළානයේ සෑම රාත්‍රියක ම හා දිවා කාලයෙහි උපවාසයෙහි නිරත වන්නන් වෙනුවෙන් මලාඉකාවරු පව් සමාව අයදමින් සිටින්නෝ ය.

4. අල්ලාහ් ස්වර්ගය දෙස බලා පහත පරිදි අණ කරයි. "අපගේ ගැත්තන් පිළිගැනීම සඳහා නුඹ සරසා ගැනීමට සූදානම් වන්න. ඔවුන් මෙලොව අපහසුතාවන්ගෙන් මිදී මාගේ දයාදයෙහි සුවය ලබන කාලය ළං වී ඇත්තේ ය."

5. රමළානයේ අවසන් රාත්‍රිය පැමිණි විට අල්ලාහ් ඔවුන් සියලු දෙනාගේ පව් කමා කරන්නේ ය. එවිට එහි සිටි අයගෙන් කෙනෙක්, එය ලයිලතුල් කද්ර් රාත්‍රිය දැයි නබි සල්ලල්ලාහු අලෛයිහි වසල්ලම්තුමාගෙන් විමසුවේ ය. එයට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම්තුමා 'නැත, කම්කරුවෝ වැඩ කරති. ඔවුන්ගේ වැඩ අවසන් වූ පසු ඔවුන්ගේ කුලිය ඔවුන්ට ගෙවිය යුතු නොවේ ද?' යැයි පිළිතුරු දුන්නෝ ය (බයිහකී).

■ තවද සව්මයෙන් මිදෙන අවස්ථාවේ සව්ම්ධාරීන් කරනු ලබන ප්‍රාර්ථනා අල්ලාහ් පිළිගනී.



**උපවාසය රැකීමෙන් අපට බොහෝ යහපත් දේවල් හිමි වන්නේ ය.**

- අපගේ පව් කමා කරනු ලබන්නේ ය.
- අප සිත්වල ''තක්වා හෙවත් දේව භක්තිය'' වර්ධනය වන්නේ ය.
- සිරුරට නීරෝගී සුවය ලැබෙන්නේ ය.
- ඉවසීම හා ඉන්ද්‍රිය පාලනය සඳහා මනා පුහුණුවක් ලැබෙන්නේ ය.
- මාස දහසක් සිටගෙන සලාතය ඉටු කිරීමට සමාන වූ රාත්‍රිය හිමි කර ගන්නා භාග්‍යය ලැබෙන්නේ ය.
- "රයියාන්" නම් දොරටුවෙන් ස්වර්ගයට යාමේ භාග්‍යය හිමි වන්නේ ය.

**එබැවින් රමළාන් මාසයේ විශේෂත්වය හඳුනා ගෙන එහි ප්‍රයෝජන මුළුමනින් ම ලබා ස්වර්ගයට යාමට අල්ලාහ් අපට කරුණාව ලබා දෙත්වා !**

**අභ්‍යාස**

**ප්‍රශ්න සියල්ලටම පිළිතුරු සපයන්න.**

1. අරාබි භාෂාවෙන් උපවාසය හඳුන්වන්නේ කෙසේ ද?
2. උපවාස කරන්නා ස්වර්ගයට පිවිසෙන්නේ කිනම් දොරටුවෙන් ද?
3. රමළාන් මාසය ඉස්ලාමීය දින දර්ශනයේ කී වන මාසය ද?
4. වෙනත් නබිවරුන්ට ලබා නො දී මුහම්මද් නබි සල්ලල්ලාහු අලෛයිහි වසල්ලම්තුමාගේ උම්මත්වරුන්ට පමණක් ලබා දුන් දායාද කීයද?
5. උපවාසය කරන්නන් වෙනුවෙන් මලක්වරුන් අල්ලාහ්ගෙන් ප්‍රාර්ථනා කරන්නේ කුමන වේලාවේ ද?

# 13 හජ්හි වැදගත්කම



ඉස්ලාමයේ පංච මහා යුතුකම්වලින් අවසාන යුතුකම හජ් වන්නේ ය. නබි ඉබ්රාහීම් අලෛයිහිස්සලාම්තුමා ද එතුමාගේ පවුලේ සාමාජිකයෝ ද අල්ලාහ්ගේ නියෝග මුළුමනින් ම ඉටු කිරීමට විවිධ පරිත්‍යාග කළෝ ය. එය සිහි ගැන්වීමක් ලෙස හජ් යුතුකම දක්නට ලැබේ.

ප්‍රමාණවත් ආර්ථික පහසුකම් ද ශාරීරික ශක්තිය ද ඇති මුස්ලිම්වරුන් හට මෙය ජීවිතයේ එක් වතාවක් ඉටු කිරීම අනිවාර්ය යුතුකමක් වන්නේ ය. හජ් යුතුකම ඉටු කිරීමේ හැකියාව ඇති කෙනෙකු එය ඉටු නොකිරීම පාපයකි.

අල් කුර්ආනය හා සුන්නාව මෙම යුතුකමේ විශේෂත්වය හා වැදගත්කම පිළිබඳව මෙසේ සඳහන් කරයි.

"කවරෙකු එහි ගමන් කළ හැකි ශක්තිවන්තයින් ලෙස සිටින්නේ ද, එම මිනිසුන් හට අල්ලාහ් වෙනුවෙන් (එහි ගොස්) බයිතුල්ලාහ් හි හජ් කිරීම යුතුකමක් වේ. කවරෙකු හෝ (මෙය) ප්‍රතික්ෂේප කළේ නම් (එමගින් අල්ලාහ්ට කිසිවක් අඩු වන්නේ නැත. මක් නිසාද යත්) සැබවින් ම අල්ලාහ් මැවීම් මගින් කිසිදු අවශ්‍යතාවක් නොමැත්තකුව සිටියි." (3:97)



අල්ලාහ්ගේ නිවස කරා යාමට තරම් ප්‍රමාණවත් සුදුසුකම් හා ගමන් පහසුකම් ඇති කෙනෙකු හජ් නොකර සිටීම ඉස්ලාම් දහමෙන් ඉවත්වූවෙකු සේ වන වරදක් ලෙස ඉස්ලාම් දහම පෙන්වා දෙයි. මක් නිසා ද යත් ''අල්ලාහ් වෙනුවෙන් එහි යාමට තරම් ශක්තිය ඇති මිනිසා කෙරෙහි කඃබතුල්ලාහ් හි හජ් කිරීම වගකීමක්'' බව අල්ලාහ් අල් කුර්ආනයේ පවසන්නේ යැයි නබි සල්ලල්ලාහු අලෙයිහි වසල්ලම් තුමාණෝ පැවසූහ. (තිර්මිදි)

"අනුන්ට වධ හිංසා නොකර, පාප ක්‍රියා වල නොයෙදී හජ් ඉටු කළ තැනැත්තා එදින උපන් ළදරුවකු මෙන් තම නිවස කරා පැමිණෙන්නේ ය." (බුහාරි)

**හජ් යුතුකම ඉටුකිරීම මගින් බොහෝ ප්‍රයෝජන ලැබේ.**

- ★ එය ඉටුකරන්නන්ගේ පාප ක්‍රියා කමා කෙරෙන්නේ ය.
- ★ ස්වර්ගයට යාමේ භාග්‍යය ඔහුට හිමි වන්නේ ය.
- ★ දුගී බවෙන් ඔහු ආරක්ෂාව ලබන්නේ ය.
- ★ ඔහු හජ් වෙනුවෙන් වැය කරන සෑම දිර්හමයකට ම (රුපියලකට)
- ★ අල්ලාහ්ගෙන් ඔහුට හත්සිය ගුණයක කුසලයක් හිමි වෙන්නේ ය.
- ★ දුක් කරදර දරා ගැනීමේ ශක්තිය වර්ධනය වන්නේ ය.
- ★ කැප කිරීමේ ගුණාංගය වර්ධනය වන්නේ ය.

තවද මෙය ලෝකවාසී මුස්ලිම්වරුන්ගේ සහෝදරත්වය ද සමානත්වය ද පෙන්වන ප්‍රධාන වගකීමකි. සියලු හාජිවරු එකම දිශාවෙන්, එකම භාෂාවෙන්, එකම ආකාරයේ ඇඳුමකින් **ලබ්බෙයික් අල්ලාහුම්ම ලබ්බෙයික්.** යයි පවසති තම මැවුම් කරු වන දෙවියන් සුවිශුද්ධ කරති. දෙවියන් අගය කරති. මෙහි ජාතිය, භාෂාව, දේශය ආදි වෙනස්කම් කිසිවක් දක්නට නොලැබේ.

සියලු දෙනා අල්ලාහ්ගේ ගැත්තන්ය යන හැඟීමෙන් යුක්තව සිටිති.

මෙලෙස ලෝකවාසී මුස්ලිම්වරුන් විවිධ රටවලින් පැමිණ එක ම ස්ථානයක රැස්වීම මගින් ඔවුන්ට එකිනෙකා හඳුනා ගැනීමට ද සමාජීය කටයුතු පිළිබඳ අදහස් හුවමාරු කර ගැනීමට ද අවස්ථාව හිමි වන්නේ ය. මුස්ලිම්වරුන් ලොව විවිධ ප්‍රදේශවල ජීවත් වුව ද තමා තනි වූ පුද්ගලයකු නොව, ලෝකවාසී මුස්ලිම් උම්මත්වරුන් අතර තමා ද එක් සාමාජිකයෙකි යන හැඟීම බලවත් කරවන අයුරින් මෙම යුතුකම හැඩගැසී තිබෙන්නේ ය.

**එබැවින් හජ් යුතුකම ඉටු කිරීමේ භාග්‍යය අපට ද ලැබිය යුතුය යනුවෙන් ද, එමගින් අල්ලාහ් අප සියලු දෙනාට ම දේව කරුණාව ලබා ගැනීමේ වාසනාව ලබා දෙත්වා යනුවෙන් ද ප්‍රාර්ථනා කරමු.**

**අභ්‍යාස**

**පහත වාක්‍ය කියවා හරි නම් ( ✓ ) යනුවෙන් ද වැරදි නම් ( ✕ ) යනුවෙන් ද සඳහන් කරන්න.**

1. හජ් ඉස්ලාමයේ පස්වන වගකීම වන්නේ ය. ( )
2. පහසුකම් ලැබෙන සෑම අවස්ථාවක ම හජ් ඉටු කිරීම මුස්ලිම්වරයකුගේ යුතුකම වන්නේ ය. ( )
3. මුස්ලිම්වරයකුට හජ් යුතුකම ඕනෑම ස්ථානයක දී ඉටු කළ හැකිය. ( )
4. ඉබ්රාහීම් අලෛයිහිස්සලාම්තුමාගේ හා එතුමාගේ පවුලේ සාමාජිකයින්ගේ පරිත්‍යාගශීලී ඉතිහාසය හජ් මගින් සිහිපත් වන්නේය. ( )
5. පහසුකම් තිබිය ද හජ් ඉටු නොකිරීම පාප කර්මයකි. ( )
6. හජ් ඉටු කිරීමට ආර්ථික පහසුකම් පමණක් තිබීම ප්‍රමාණවත් වන්නේ ය. ( )
7. පිළිගත් හජ් සඳහා වූ තිළිණය ස්වර්ගය වේ. ( )
8. හජ් යුතුකම ඕනෑ ම කාලයක දී ඉටු කළ හැකි ය. ( )

# 14 සුන්නත් සලාතය



අල්ලාහ් පස් වේල් සලාතය අප වෙත යුතුකමක් කර ඇත්තේ ය. ඒ හැර වෙනත් ආකාරයේ සලාත කිහිපයක් ද දක්නට ලැබෙන්නේ ය. ඒවායෙන් සුන්නත් වූ සලාත පිළිබඳ දැන ගනිමු. ඒවා ඉටු කිරීමෙන් අපගේ ෆර්ලු සලාතවල ඇති වූ වැරදි හා දෝෂ නිරාකරණය කර ගැනීමට හැකි වන්නේ ය. තව ද කුසල් රාශියක් ද හිමි වන්නේ ය. ඒවා ඉටු කරන ලෙස නබි සල්ලල්ලාහු අලෛයිහි වසල්ලම්තුමා ද දිරිගන්වා ඇත්තේ ය.

"කියාමත් දිනයේ දී ගැත්තෙකුගෙන් ඔහුගේ යහක්‍රියාවලින් මුලින් ම විමසනු ලබන්නේ සලාතය පිළිබඳවයි. එය යහපත් වූයේ නම් නියත වශයෙන් ම ඔහුට ජයග්‍රහණය ලැබෙන්නේ ය. එසේ ම එය අඩුපාඩු සහිතව හා නිසි ආකාරයෙන් නොවූයේ නම් නියත වශයෙන් ම ඔහු අලාභය ලබන්නේ ය. නමුත් ඔහුගේ ෆර්ලු වූ ක්‍රියාවල දෝෂ හෝ අඩුවක් ඇති වූයේ නම් 'මාගේ ගැත්තා වෙත සුන්නත් සලාත් තිබේ දැයි සොයා

බලන්න' යැයි අල්ලාහ් මලාඉකාවරුන් හට පවසයි. වහා ම ෆර්ලු සලාත්වල අඩුව සුන්නත් සලාත් මගින් පූර්ණය කරනු ලැබේ. අනෙකුත් යහක්‍රියා ද මෙලෙස පූර්ණය කරනු ලැබේ' යැයි නබි සල්ලල්ලාහු අලෙයිහිවසල්ලම් තුමාණෝ සඳහන් කළෝ ය." (තිර්මිදි)

සෑම සුන්නත් වූ සලාතයකට ම සුවිශේෂී වූ ලක්ෂණ දක්නට තිබේ. 'ඕ "ආදම්ගේ දරුවනි! දහවලේ මුල් භාගයේ ඉටු කරන රකඅත් හතරක් සලාත් නොකරන්නන් ලෙස නොසිටින්න. මක් නිසා ද යත් එය ම එම දිනයේ ඔබට ප්‍රමාණවත් වනු ඇත." (හාකිම්)



"රාත්‍රියේ සිටගෙන නමදින්න. එය ඔබට පෙර සිටි යහ ගැත්තන්ගේ සිරිතයි. එය ඔබ ඔබගේ දෙවියන් වෙත සමීප කරවයි. ඔබගේ පාප මකා දමයි. අයහපත් දෙයින් ඔබ සුරකියි. ඔබගේ ශාරීරික රෝග නැති කරයි." (තිර්මිදි)

"කවරෙක් රාත්‍රියෙහි ද දහවලෙහි ද (අනිවාර්ය සලාත්වලට පෙර හා පසුව ඇති) රකඅත් දොළහ නමදී ද ඒ හේතුවෙන් ඔහුට ස්වර්ගයේ මාලිගයක් තනනු ලැබේ." (මුස්ලිම්)

**සුන්නත් සලාතවල සුවිශේෂ ලක්ෂණ දැන ගත් අපි ඒවායේ වර්ග ද දැන ගනිමු.**

1. පස්වේල් සලාතයට පෙර හා පසුව ඇති සුන්නත් සලාත්
2. තහියියතුල් මස්ජිද් සලාතය
3. ලුහා සලාතය
4. තහජ්ජුද් සලාතය
5. විත්ර් සලාතය
6. තරාවීහ් සලාතය
7. අවුරුදු උත්සව සලාතය
8. ග්‍රහණ සලාතය
9. තස්බීහ් සලාතය

එහෙයින් අපි,

**පස්වේල් සලාතය නොවරදවා ඉටු කරමු. තව ද සුන්නත් වූ සලාතය ද හැකි පමණින් ඉටු කර අල්ලාහ්ගේ දයාව හා දායාද ලබා ගැනීමට උත්සාහ කරමු.**

**ක්‍රියාකාරකම්**

1. පහත සඳහන් සලාත් ෆර්ලු හා සුන්නත් වශයෙන් වර්ග කර පෙන්වන්න

- ජනාසා සලාතය
- ලුහර් සලාතය
- තරාවීහ් සලාතය
- විත්ර් සලාතය
- ලුහා සලාතය
- ෆජ්ර් සලාතය
- තහජ්ජුද් සලාතය

2. සුන්නත් වූ සලාත් මගින් ලැබෙන ප්‍රයෝජන 3 ක් ලියන්න.

# 15 සුරකිමු පරිසරය




අප ජීවත් වන මෙම භූමිය අල්ලාහ්ගේ දායාදයකි. අල්ලාහ් ආදම් අලෛයිහිස් සලාම්තුමා මෙලොවට එවීමට සූදානම් කළ විට, මිනිස් වර්ග යාගේ ජීවන පැවැත්මට අවශ්‍ය කරන සියලු ජීවීන් හා භෞතික වස්තු ද මෙහි මැව්වේ ය.

එනිසා පරිසරය යන්න අප ජීවත් වන භූමිය සහ එහි අල්ලාහ් අප වෙනුවෙන් මැවූ ජීවීන්, භූමිය, ජලය හා වාතය වැනි අත්‍යවශ්‍ය භෞතික වස්තූන් සියල්ල අයත් කොටස වන්නේ ය.

අපගේ පරිසරය ද එම පරිසරයේ ඇති දේ පිළිබඳව ද අල්ලාහ් ඔහුගේ කලාම් වන අල් කුර්ආනයේ බොහෝ ස්ථානවල සඳහන් කරන්නේ ය.

පුළුල් වූ අහස්තලය, අප ජීවත් වන පොළොව, එහි පියාසර කරන පක්ෂීන්, මී මැස්සන් ආදිය පිළිබඳව අල් කුර්ආනයේ සඳහන් වේ.

ගලන ගංගා, වේගයෙන් හමන සුළඟ, චන්ද්‍රයා, සූර්යයා, තාරකා යැයි අල් කුර්ආනය පවසන සෑම උදාහරණයක් ම දෙස බලන්න. ඒවා අපගේ පරිසරය පිළිබඳව ද එහි වාසය කරන මිනිසා එමගින් බොහෝ පාඩම් ලබා ගැනීම පිළිබඳව ද ගෙනහැර දක්වයි. එපමණක් නොව එය සුරැකීමේ වැදගත්කම පිළිබඳව ද සඳහන් කරයි.

එනිසා අප ජීවත් වන භූමිය සාරවත් කිරීම සෑම මුස්ලිම්වරයකුගේ ම අනිවාර්ය යුතුකමකි. 'ඊමානයේ අංශ හැත්තෑවකටත් වඩා අධික වේ. එහි උසස්තම අංශය ''ලා ඉලාහ ඉල්ලල්ලාහ්'' නම් කලිමාව වේ. එහි පහත් ම අංශය මාර්ගයේ ඇති හානිකර දේ ඉවත් කිරීම වේ' යැයි නබි සල්ලල්ලාහු අලෛයිහි වසල්ලම්තුමාණෝ පැවසූහ. එපමණක් නොව ''පිරිසිදුකම ඊමානයේ අඩකි'' යැයි ද නබි සල්ලල්ලාහු අලෛයිහි වසල්ලම්තුමා පැවසූහ.

සෑම මුස්ලිම්වරයෙකු ම ඔහු ජීවත් වන පරිසරය අලංකාරවත් ලෙස හා පිරිසිදු ලෙස තබා ගැනීම කෙරෙහි අවධානය යොමු කළ යුතුය.

**පරිසරය අලංකාර කිරීමේ දී සැලකිය යුතු කරුණු**

1. පරිසරය අලංකාර කරන ගස් වැල් සිටුවීම.
2. පරිසරය නිරතුරුව පිරිසිදුව තැබීම.
3. පරිසරය පිරිසිදු කරන විට වරින් වර එකතු වන කුණු කසළ නිසි අයුරින් ඉවත් කිරීම.
4. භූමිය ජලය හා වාතය යනාදිය දූෂණය නොවී ආරක්ෂා කිරීම.
5. ගස්වලට පක්ෂීන්ට හා සිවුපාවන්ට හානිකර විෂ වර්ග එම පරිසරයේ වැඩීමට නොදී වැළැක්වීම.



මෙසේ අවට පරිසරයේ අලංකාරය හා පිරිසිදුකම ආරක්ෂා කරන විට අපට අල්ලාහ්ගේ දයාවට පාත්‍ර වූවන් බවට පත් විය හැක. පහත හදීස් මගින් එය මෙසේ ගෙනහැර දක්වයි:

"අල්ලාහ් අලංකාර වූවෙකි. ඔහු අලංකාරය ප්‍රිය කරයි, අල්ලාහ් පිරිසිදු ය. ඔහු පිරිසිදුකම ප්‍රිය කරයි." (මුස්ලිම්)

අවට පරිසරය ආරක්ෂා කිරීම මගින් වර්තමානයේ මිනිස් සමාජයට තර්ජනයක් වන ඩෙංගු, මැලේරියා, පාචනය, කොළරාව, උණසන්නිපාතය වැනි බෝවන රෝගවලින් ආරක්ෂාව ලැබිය හැකි ය.

අවට පරිසරය දූෂණය වීම මගින් මෙලොවෙන් තුරන් වී යන විවිධ ජීවීන් ආරක්ෂා කර ගැනීමට ද හැකි වන්නේ ය. ඒ සමග දිනෙන් දින ඇති වන ඉඩෝරය, භූමිකම්පා, ගංවතුර, නායයෑම්, සුනාමි වැනි ස්වාභාවික ආපදාවලින් ද අපට ආරක්ෂාව ලැබෙන්නේ ය. මුස්ලිම්වරයෙක් තම මූලික යුතුකම ඉටු කරනවා මෙන් ම පරිසරයේ පිරිසිදුකම ආරක්ෂා කිරීම ද තමාගේ යුතුකමක් කර ගනී.

සාරවත් පරිසරයක් බිහි කිරීම මුස්ලිම් වන ස්ත්‍රී පුරුෂ සියල්ලන්ගේ ම අනිවාර්ය යුතුකමක් වන්නේ ය.

එනිසා එවැනි පරිසරයක් බිහි කර අල්ලාහ්ගේ තෘප්තිය ලබා ගැනීමට අපි උත්සාහ කරමු.

**අභ්‍යාස**

**පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.**

(1) පරිසරය අලංකාර කිරීමේ දී අනුගමනය කළ යුතු කරුණු 4ක් ලියන්න.

(2) පරිසරය අපවිත්‍ර වීමෙන් ඇතිවන අහිතකර ප්‍රතිඵල 4ක් ලියන්න.

# 16 කුණු කසළ බැහැර කිරීම

රහ්මත්පුර ස්වාභාවිකව ම සුන්දර ගම්මානයකි. එහෙත් එම ගම්මානයේ වාසය කරන්නන්ට ඒ පිළිබඳව හැඟීමක් නොතිබිණි. ඔවුන්ගේ ගතිපැවතුම් නිසා එම ගම්මානයේ සුන්දරත්වයට හානි සිදු විය. ඔවුහු වාතය හා ජලය අපවිත්‍ර කළෝ ය. ගම්වැසියෝ දුගඳ වූ වාතය ආශ්වාස කළෝ ය. ගඟේ වතුර අපවිත්‍ර වූ නිසා ඔවුන්ට එම ජලය උපයෝගී කර ගැනීමට නොහැකි වී තිබිණි. එම ගම්මානයේ සිටි කුඩා දරුවාගේ පටන් වැඩිහිටියන් දක්වා සියලු දෙනා වරින් වර ඩෙංගු, මැලේරියා යනාදි සෞඛ්‍යමය රෝග ගැටලු රාශියකට මුහුණ දෙමින් සිටියෝ ය.

මස්ජිදයේ සේවය කිරීම සඳහා අලුතින් ඉමාම්වරයෙක් පැමිණියේ ය. ඉමාම්තුමා එම ගම්මානයේ දුක්ඛිත තත්ත්වය දැක කනගාටු වූයේ ය.



මක්නිසා ද යත්; ජනයා එම ගම්මානයේ ප්‍රධාන මංසන්ධියේ අපද්‍රව්‍ය ඉවතලමින් සිටියෝ ය. සමහරු අපද්‍රව්‍ය පොලිතීන් මලුවල බහා වීදියේ දෙපස විසිකර යන්නෝ ය. බල්ලන් සහ කපුටන් ඒවා ඇද දැමීම නිසා එම වීථිවල දෙපස අපවිත්‍ර වී තිබිණ. මේ නිසා වීථියේ ගමන් කරන්නෝ හා පදිකයෝ අති මහත් දුෂ්කරතාවකට පත් වූවෝ ය. මෙම කුණු කසළ නිසා මුළු ගම්මානය පුරා ම දුගඳ හමමින් තිබිණි.

තව ද එම ගම්වැසියෝ නිවසේ අපවිත්‍ර ජලය කිසිදු පැකිළීමකින් තොරව ගඟට ම මුදා හැරියෝ ය. මේ හේතුවෙන් ගඟේ ජලය අපවිත්‍ර විය. සෑම තැන පොලිතීන් මලු හා කැඩුණු බිඳුණු ප්ලාස්ටික් භාණ්ඩ ද ටින් ද පොල් කටු ද වීසි කර තිබුණි. ගම්වැසියෝ දිවා කාලයේ මැසි උවදුරින් ද රාත්‍රියේ දී මදුරු උවදුරින් ද පීඩාවට පත්වූවෝ ය.



මේ සියල්ල කෙරෙහි අවධානය යොමු කළ මස්ජිදයේ නවක ඉමාම්තුමා මෙම ගම්මානයේ ම නැවතී සේවය කරනවා ද නැතහොත් වෙනත් ගම්මානයකට යනවා දැයි කල්පනා කළේය. තමා ගම්මාන යෙන් පිටවනවාට වඩා ගම්මානය යහපත් තත්ත්වයකට ගෙන ඒම වැදගත් සේවයකැයි තීරණය කළේ ය.

සිකුරාදා දිනයේ ඉමාම්තුමා තම කුත්බා දේශනයේ දී අප ජීවත් වන වටපිටාව ශුද්ධ පවිත්‍රව තබා ගැනීමේ වැදගත්කම පිළිබඳ විශේෂ දේශනයක් කළේ ය. එහි දී ගමෙහි ජනතාව කුණු කසළ බැහැර කිරීමට කටයුතු කළ ආකාරය අල්ලාහ්ට පිළිකුල් සහගත වන බව එතුමා පැහැදිලි කළේ ය. මෙම ගම්මානයට මලක්වරුන් පැමිණිය යුතු නම් මෙම ගම්මානය පිරිසිදු කළ යුතු යැයි කීවේ ය. අල් කුර්ආන් වැකි ද හදීස් ද ගෙන හැර පෑවේ ය. කුණු කසළ හරියාකාරව බැහැර නොකළේ නම් එමගින් ඇති වන දුර්විපාක ද පැහැදිලි කළේ ය. ඒ පිළිබඳව අවවාද ද කළේ ය.

- පිරිසිදුකම ඊමානයේ අඩකි. (හදීස්)
- පාරේ ඇති හානිකර ගල් මුල් ඉවත් කිරීම ද ඊමානයට අයත් වන්නකි. (හදීස්)
- අල්ලාහ් ප්‍රිය කරන්නේ තව්බා කරන්නන් හා පිරිසිදුව සිටින්නන් ය.

(අල් කුර්ආන්)

මෙම දේශනයෙන් පසු ජනතාව පිබිදුණහ. ගමෙහි සමහර තරුණයෝ හා වැදගත් උදවිය ඉමාම්තුමා හමුවූහ. එතුමා සමග සාකච්ඡා කළෝ ය. අවසානයේ දී දින දෙකක ශ්‍රමදානයක් සූදානම් කර ගම ශුද්ධ පවිත්‍ර කිරීමට තීරණය කළෝ ය. ඒ සඳහා දින ද තීරණය කළෝ ය.

ගම්වාසීහු සියලු දෙනා එම ශ්‍රමදානයට උද්‍යෝගයෙන් සහභාගි වූවෝ ය. ගැහැනු, පිරිමි, ළමුන් ආදි වශයෙන් සියලු දෙනා දායක වූවෝ ය. ඊට සහභාගී වන්නට නොහැකි වූවෝ තමන් වෙනුවෙන් වැඩ කිරීමට වෙනත් අය යවා තැබුවෝ ය.

ශ්‍රමදානයේ දී වැඩිහිටියෝ තැනින් තැන වළවල් කැපුවෝ ය. පසුව හන්දියේ තැනින් තැන ගොඩ ගසා තිබූ කුණු කසළ ගෙනැවිත් එහි දැමුවෝ ය. පසුව පස් දමා එම වළවල් වසා දැමුවෝ ය. ගැහැනුන්ගෙන් සමහරු එහි පල දරන අඹ කොස් හා පේර වැනි පලතුරු පැළ ද සෙවණ ලබා දෙන පැළෑටි ද සිටවූවෝ ය.

කුඩා දරුවෝ පොල් කටු ද ප්ලාස්ටික් භාණ්ඩ ද ටින් ද වෙන් වෙන් වශයෙන් තළා පොඩි කළෝ ය. ඒවායින් සමහර දේ කොටස් වශයෙන් ගිනි තැබුවෝ ය. පිරිමින්ගෙන් සමහරු ගඟට යන පාර පිරිසිදු කළෝ ය. ගඟ අයිනෙහි දමා තිබූ අපද්‍රව්‍ය කසළ ඉවත් කළෝ ය. නිවසින් බැහැර වන අපවිත්‍ර ජලය ගඟට යැවීමට කටයුතු කළ අය හඳුනාගෙන ඔවුන්ට උපදෙස් ලබා දීම ද සිදුවිය. මේ අයුරින් පළමු දිනයේ ශ්‍රමදාන කටයුතු අවසන් විය.

දෙවන දිනයේ බහුතරයක් දෙනා තම නිවස අවට පිරිසිදු කිරීමෙහි නිරත වූවෝ ය. නිවසින් පිට තිබූ කුණු කසළ ද නිවස තුළ එකතු වන

අනවශ්‍ය දේ ද තම තමන්ගේ නිවස අසල ගොඩ ගසා සමහර දේට ගිනි තැබුවෝ ය. අපවිත්‍ර බැහැර කිරීම සඳහා සමහරු තම නිවෙස් මායිම තුළ වළවල් කැපුවෝ ය. තවත් සමහරු එම අපවිත්‍ර ජලය නැවත භාවිත කිරීම සඳහා කාණු කපා නිවසේ වත්තට හැරවූවෝ ය. මෙසේ දෙවන දිනයේ දී ශ්‍රමදාන කටයුතු සාර්ථක ලෙස නිමා විය.



මස්ජිදයේ ඉමාම්තුමා සෑම නිවසක ම එකතු වන කුණු කසළ බැහැර කිරීම සඳහා ක්‍රමයක් කියා දුන්නේ ය. ගම්වාසීන් විසින් ඒ අනුව සෑම නිවෙසක ම මිදුලේ බඳුන් දෙකක් තබන ලදි. එක් කුඩයක දිරාපත් වන කුණු කසළ ද අනිත් බඳුනේ දිරාපත් නොවන කුණු කසළ ද වෙන් වෙන් වශයෙන් දැමූ අතර කුඩය පිරෙන විට දිරාපත් වන කසළ කුඹුරු අයිනෙහි කපා තිබූ වළවල්වල වළලන ලදි. දිරාපත් නොවන ප්ලාස්ටික් හා පොලිතීන් ද්‍රව්‍ය ඒවා එකතු කිරීමට පැමිණෙන්නන් වෙත භාර දීම සිදු කෙරිණි.

රහ්මත් පුරය නව පෙනුමක් ගත්තේ ය. එය ජනතා ප්‍රසාදය ලත් පිරිසිදු ගම්මානයක් විය. ගම්වැසියෝ සතියකට දිනයක් වෙන් කර ගමෙහි පවිත්‍රතා කටයුතුවල නිරත වීමට පුරුදු වූහ. සිටවූ පැළ පල දරමින් තිබිණි. ගමේ ජනතාව ප්‍රීතියට පත් වූවෝ ය. එමෙන්ම ඉමාම්තුමාට මුළුමනින් ම අවනත වූවෝ ය. සලාතය වෙනුවෙන් අදාන් පවසන විට ජනතාව මස්ජිදයට ගොස් ජමාඅතයත් සමග සලාතය ඉටු කිරීමෙන් සතුටට පත් වූවෝ ය.

රහ්මත් පුරය දැන් අල්ලාහ්ගේ රහ්මතය ලැබූ ගම්මානයක් බවට පත් විය.

**අභ්‍යාස**

**පහත සඳහන් ප්‍රකාශ කියවා ඒවා හරි නම් (✓) ලකුණ ද වැරදි නම් (✕) ලකුණ ද යොදන්න.**

1. පිරිසිදුකම ඊමානයෙන් අඩක් යැයි අල් කුර්ආනයේ සඳහන් වේ. ( )
2. ගම්මානය අපිරිසිදු වීමට හේතුව ගම්වාසීහු ම වෙති. ( )
3. ගමට බරකත් ගෙන එන මලක්වරුන් පැමිණීමට නම් ගම පිරිසිදුව තිබිය යුතු ය. ( )
4. ශ්‍රමදාන කටයුතුවල නිරත වන නිසා අපගේ කාල වේලාව නාස්ති වේ. ( )
5. කුණු කසළ මගින් කිසි ම ප්‍රයෝජනයක් ලබා ගත නොහැක. ( )

**ක්‍රියාකාරකම**

පන්තිභාර ගුරුතුමාගේ ගුරුතුමියගේ මඟ පෙන්වීම යටතේ පන්තිය තුළ සහ පන්තියෙන් බැහැර ශ්‍රමදානයක් සූදානම් කරන්න.

# 17 කාලය සුරැකීම



කාලයේ ඇති වැදගත්කම පිළිබඳ සූරතුල් අස්ර් පාඩමේ දී ඔබ ඉගෙන ගත්තා මතක ද?

මිනිස් ජීවිතය, කාලය ප්‍රයෝජනයට ගැනීම මත රඳා පවතී. කෙනෙකු එය නිසි ලෙස ප්‍රයෝජනයට ගන්නා විට ඔහු ජීවිතය ජය ගනී. එය නිසි ලෙස ප්‍රයෝජනයට නොගන්නා අය විවිධ ගැටලුවලට මුහුණ දෙති. ජය හෝ පරාජය ලැබීම කාලය නිසි ලෙස කළමනාකරණය කිරීම මත රඳා පවතී.

එබැවින්, ඉබ්නු මස්ඌද් රලියල්ලාහු අන්හු තුමා මෙසේ පැවසුවේ ය. ''අලුත් දවසක් උදා වූ පසු, එදින අපගේ ක්‍රියාකාරකම්වල කුඩා දියුණුවක් හෝ නොලැබ මාගේ ආයු කාලය අඩු වන විට ඒ වෙනුවෙන් මා දුක් වනවාක් මෙන් අන් කිසිදු දෙයකට මම දුක් නොවෙමි.''

නිසි වෙලාවට කටයුතු කිරීම ජයග්‍රාහී මිනිසකුගේ අතිශය වැදගත් ගුණාංගයකි. සලාතය සම්බන්ධව අල් කුර්ආනය මෙසේ පවසයි. කලට වෙලාවට කටයුතු කිරීමේ පුරුද්ද ඉස්ලාමීය යුතුකම් මගින් මිනිසා තුළ වර්ධනය කරවයි.

'නියත වගයෙන් ම සලාතය මුඃමින්වරුන් කෙරෙහි කාලය නිශ්චිත කරන ලද යුතුකමකි'.

උදෑසන අවදි වී සුබහ් සලාතය ඉටු කිරීමෙන් උනන්දුවෙන් හා උද්‍යෝගයෙන් එදිනෙදා වැඩ කටයුතු ආරම්භ කිරීමට හැකි වන්නේ ය. උදෑසන අවදි වීමෙන් සමෘද්ධිය ඇති වන්නේ ය. 'ඕ අල්ලාහ් ! මාගේ උම්මත්වරුන්ගෙන් හිමිදිරි උදෑසන අවදිවන්නන් හට සමෘද්ධිය ලබා දෙනු මැනව ! යැයි නබි සල්ලල්ලාහු අලෛයිහි වසල්ලම්තුමාණෝ ප්‍රාර්ථනා කළෝ ය. (අහ්මද්)

කෙනෙකු තමා වෙත පැවරී තිබෙන යුතුකම් නිසි වෙලාවට ඉටු කළ යුතු ය. සලාතය ඒ සඳහා වූ අදාළ නිශ්චිත කාලය තුළ ඉටු කළ යුතු ය. දැනුම ලබා ගත යුතු කාලයෙහි දැනුම ලබා ගත යුතු ය. අල් කුර්ආනය පාරායනය කළ යුතු කාලයෙහි එය පාරායනය කළ යුතු ය. ක්‍රීඩා කළ යුතු කාලයෙහි ක්‍රීඩා කළ යුතු ය. නිදා ගත යුතු කාලයෙහි නිදා ගත යුතු ය. සෑම ක්‍රියාවක් ම ඊට අදාළ කාලය තුළ ඉටු කිරීමෙන් ජීවිතයට ජයග්‍රහණය ගෙන දීමට මග පෑදෙයි.



**කලට වේලාවට වැඩ කිරීමේ පුරුද්ද ඇති කර ගැනීමට පහත සඳහන් පිළිවෙත් අප අනුගමනය කළ යුතු බව අපගේ පැරැන්නෝ අපට පෙන්වා දුන්හ.**

- ★ අපගේ යුතුකම් ද ඒවා ඉටු කළ යුතු කාලය ද සැලසුම් කර ගැනීම.
- ★ දිනපතා ඉටු කළ යුතු දේ සටහන් කර ගැනීම.
- ★ සෑම ක්‍රියාවක් ම නියමිත කාලයේ ඉටු කිරීම.
- ★ පස්වේල් සලාතය ද නියමිත වූ ආරම්භක වේලාවේ දී ම ජමාඅත් සමග ඉටු කිරීම.
- ★ අලුයම අවදි වී තහජ්ජුද් සලාතය හා සුබහ් සලාතය යනාදිය ඉටු කිරීම.
- ★ කිසිදු කටයුත්තක් පසුව කිරීමට කල් නොදැමීම.
- ★ වරින් වර අමතක වන කටයුතු සටහන් කර තබා ගැනීම.

**එනිසා මේ පිළිබඳව අවධානය යොමු කර කාලය නිසි ලෙස ප්‍රයෝජනයට ගෙන, අපගේ වැඩ කටයුතු පසුවට කල් නොදමා අපි ජීවිතය ජය ගනිමු.**

**අභ්‍යාස**

1. කාලයේ වැදගත්කම පිළිබඳ වාක්‍ය 5ක් ලියන්න.

# 18 යහපත් දේ කරමු අයහපත වළකමු



අපි සැවොම යහපත් ක්‍රියා ප්‍රිය කරන්නෙමු. අයහපත් ක්‍රියා පිළිකුල් කරමු. අල්ලාහ් යහපත් ක්‍රියා කිරීමට අණ කරන්නේ ය. අයහපත වළක්වන්නේ ය. යහපත් දෙයට සහාය දැක්වීම ද අයහපත් දෙයින් මිදීම ද මිනිසාගේ උතුම් ගුණාංගයකි. මක් නිසා ද යත් යහපත් දෙයින් මිනිසාට යහපතක් ම වෙයි. අයහපත් දෙයින් ඔහුට අයහපතක් ම වෙයි. ලොවේ යහපත් දේ වැඩි විය යුතු ය. නරක දේ තුරන් විය යුතු ය. මෙය මිනිසුන් සැම දෙනාගේ බලාපොරොත්තුව ද වන්නේ ය. අල්ලාහ් ද එය ප්‍රිය කරයි.

ලොව බිහි වූ සියලු නබිවරු යහපත කරන මෙන් අණ කළෝ ය. අයහපත වැළැක්වූහ. එසේ අණ කළ දේ හලාල් යැයි ද වැළැක්වූ දේ හරාම් යැයි ද හැඳින්වේ. සත්‍යය කතා කිරීම, සිරිත් විරිත් පිළිපැදීම, සන්සුන් භාවය ඇති කිරීම, අවංක වීම, යුක්තිය ඉටු කිරීම යනාදිය යහපත්

ක්‍රියාවලින් සමහරකි. බොරු කීම, සිරිත් විරිත් කඩ කිරීම, සණ්ඩු සරුවල්වල නිරත වීම සමාජයේ කෝලාහල මතු කිරීම, හොඳින් දැන අපරාධවලට සහයෝගය දැක්වීම යනාදිය අයහපත් ක්‍රියා වෙයි.

යහපත් දෙය ප්‍රිය කිරීමට ද නරක දෙය පිළිකුල් කිරීමට ද මිනිසාට විවිධ හේතු තිබේ. ලොවෙහි සාමය උදා වීමට නම් යහපත් දේ වැඩි විය යුතු ය. අයහපත් දේ අඩු විය යුතු ය. නොදැනුවත්කම, තණ්හාව, නරක මිතුරන්, නරක වටා පිටාව, ආදිය මිනිසා වැරදි මාර්ගයට ඇද දමන්නේ ය. ඒවා නැති කිරීමට අවශ්‍ය මගපෙන්වීම ඉස්ලාම් අපට ලබා දෙන්නේ ය.

අල්ලාහ් මෙසේ පවසන්නේ ය. ''නුඹලා (ජනයාට) යහපත විධානය කරන්නෙහු ය. තව ද නුඹලා පිළිකුල් දැයින් වළක්වන්නෙහු ය. තව ද අල්ලාහ්ව නුඹලා විශ්වාස කරන්නෙහු ය. (3:110)

ඔබෙන් කෙනෙකු මෙහි යහපත අණ කිරීම ද අයහපත වැළැක්වීම ද උතුම් සමාජයක ක්‍රියා පටිපාටියක් ලෙස දක්වයි. ඔබෙන් කෙනෙකු අයහපත් දේ දුටු විට එය තම අතින් වළක්වන්න. එයට ශක්තිය නොමැති නම් වචනයෙන් වළක්වන්න. එයට ද ශක්තිය නොමැති නම් මනසින් වළක්වන්න යැයි නබි සල්ලල්ලාහු අලෙයිහි වසල්ලම්තුමාණෝ දැනුවත් කර ඇත්තෝ ය.

අපට නරක දේ පහසුවෙන් අවබෝධ කර ගත හැකි ය. එවැන්නක් සිදු වන විට මිනිස් සිත ඔහු කලඹවයි. අප කරන වැරදි පාපය හෝ නරක දේ අන් අයට දැන ගත නොහැකි වන සේ වසං කිරීම ආගමට හා සමාජයට පටහැනි වූ ක්‍රියාවකි.

ඉස්ලාම් දහම යහපත කිරීම අනිවාර්ය කරන්නේ ය. එය කිරීම මගින් සිතට සහනයක් ලැබෙන්නේ ය. අල්ලාහ්ගේ දයාව හා එයට අදාළ කුසල හිමි වන්නේ ය. අප කරන යහ ක්‍රියා බලා අන් අය තෘප්තිමත් වන්නෝ ය. ඔවුහු 'අප ද එසේ කළ යුතුයැයි පොලඹවනු ලබන්නෝ ය.

යහපත කිරීම ද අයහපත නොකර සිටීම ද මුස්ලිම්වරයකු සතු වගකීමකි. මෙම සේවය මුස්ලිම්වරුන් තනි තනිව හෝ කණ්ඩායම් වශයෙන් හෝ ඉටු කිරීම අනිවාර්ය ය.

අයහපත යනු අල්ලාහ් විසින් වැළැක්වූ, පිළිකුල් සහගත, නින්දිත හා අල්ලාහ්ගේ කෝපයට පාත්‍ර වූවක් ලෙස ද තිබෙන්නේ ය. එනිසා පාපයක් සිදුවන ස්ථානයකට යාම, ඒවා කෙරෙහි උනන්දු කරවීම හෝ ඒවා කිරීමෙන් වැළකීසිටීම කළ යුතු ය. අයහපත් දේ කරන්නන් සමග හවුල් වීම, ඇසුරු කිරීම හෝ ඔවුන් කරන අයහපත් දේවලට සහයෝගය දැක්වීම හෝ නොකළ යුතු ය. හැකි නම් ඔවුන් එම අයහපත් දේවලින් මුදවා ගැනීමේ ක්‍රියා මාර්ග පෞද්ගලික වශයෙන් හා සාමූහික වශයෙන් අත්හදා බැලිය යුතු ය.

අල් කුර්ආනය හා සුන්නාහ් පැවසුවේ යහපත් දේ අණ කර අයහපත් දේ වළක්වන ලෙස පමණක් නොවේ. එහි යහපත කුමක් ද අයහපත කුමක් ද යන්න ද පෙන්වා දී ඇත්තේ ය.

එනිසා,

- ★ **යහපත් දේ සොයා දැන ගනිමු.**
- ★ **එය අන් අයට ද පිළිපදින ලෙස උපදෙස් දෙමු.**
- ★ **අයහපත හඳුනා ගනිමු. එය පිළිකුල් කර එයින් ඈත් වෙමු.**
- ★ **අන් අයට ද අයහපත් දේ කිරීමට ඉඩ නොදී වළක්වමු.**

**අභ්‍යාස**

1. පහත කරුණු එකිනෙක ගැළපෙන පරිදි යා කරන්න.

| අ | ආ |
|---|---|
| (I) අල්ලාහ් යහපත පනවා ඇත | වැළැක්විය යුතු ය. |
| (II) යහපත කිරීම ද කරවීම ද කළ යුතු ය | යහපත පනවා අයහපත වළක්වා පැමිණීම ය. |
| (III) ගැටලු මතු කරවීම | අයහපත වළක්වා ඇත. |
| (IV) උසස් සමාජය යන්නට සාධකයකි | අයහපත පනවා එයින් වළැක්වීම ද කළ යුතු ය. |

(2) ජනතාව කළ යුතු යහපත් ක්‍රියා 5 ක් සඳහන් කරන්න.

(3) ජනතාවගෙන් වැළැක්විය යුතු අයහපත් ක්‍රියා 5 ක් සඳහන් කරන්න.

(4) අයහපත දුටු විට අප හැසිරිය යුතු ආකාරය පිළිබඳ අල් හදීසයේ සඳහන් වන්නේ කෙලෙස ද?

(5) අයහපත වැළැක්වීම සඳහා ඔබට දායක විය හැක්කේ කෙසේ දැයි කෙටියෙන් සඳහන් කරන්න.

# 19 යහපත් ක්‍රියාවලට සහාය වෙමු

එය නබි සල්ලල්ලාහු අලෛහිවසල්ලම්තුමාණන් තරුණයකු ලෙස සිටි කාලයයි. අරාබි දේශය ජාහිලියියා නම් නූගත්කමින් පිරී ඉතිරී තිබුණි. ඔවුන් තුළ ගෝත්‍රික සිතුවිලි මුල්තැන ගෙන තිබුණි.

වරක් ජුබෙයිද් ගෝත්‍රයට අයත් කෙනෙක් වෙළෙඳ කටයුතු සඳහා මක්කාවට පැමිණියේ ය. සහ්ම් ගෝත්‍රයට අයත් ආස් බින් වායිල් නැමැත්තා ඔහුගෙන් භාණ්ඩ මිලට ගත්තේ ය. එහෙත් ආස් බින් වායිල් මුදල් ගෙවීම පැහැර හැරියේ ය. මෙයින් කනගාටුවට පත් වූ එම වෙළෙන්දා එකල පැවති සම්ප්‍රදායට අනුව හිතවත් ගෝත්‍රිකයින්ගෙන් අසාධාරණයට එරෙහිව උදවු ඉල්ලා සිටියේ ය. එයට ඔවුහු සහාය නුදුන්හ. කිසිවක් කර කියා ගැනීමට නොහැකි වූ නිසා ඔහු මක්කාවෙහි අබී කුබෙයිස් කන්දට නැග්ගේ ය. එහි සිට ජනතාව අමතා තමාට සිදු වූ අයුක්තිය ශබ්ද නඟා කීවේ ය.

එම හඬට සවන් දුන් සුබෙයිර් ඉබ්නු අබ්දුල් මුත්තලිබ් නම් කුරයිෂි ප්‍රධානියා මෙසේ සිදු වූයේ ඇයි දැයි විමසුවේ ය. පසුව **අබ්දුල්ලා බින් ජුද්ආන්** නම් ගෞරවයට පාත්‍ර වූ මහලු ප්‍රධානියකුගේ නිවසේ කුරෙයිෂිවරු රැස්වූවෝ ය.

ඔවුහු එහි දී මක්කාවාසීන් හෝ පිටස්තරයින් හෝ කවුරුන් හෝ වේවා අසාධාරණයට ලක් වුව හොත් ඔවුන්ට උදවු කර සාධාරණය ඉටු කළ යුතු බවට වන තීරණය කළෝ ය. එයට ගිවිසුමක් ඇති කර ගත්තෝ ය. මෙය **හිල්ෆුල් ෆුදූල්** නම් වේ.

මක්කා වැසියන්, අසල්වැසියන්, නිවහල් මිනිසුන් හෝ වහලුන් මක්කාවේ හෝ ඒ අවට හිංසාවට හෝ අපරාධයකට ලක් නොවී සිටීමේ පිළිවෙත් සකස් කිරීම ද අපරාධයට ලක් වූවන්ට උදවු උපකාර කිරීම මෙම ගිවිසුමෙහි සාරාංශය වේ.

මෙම සිද්ධියෙහි දී මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම්තුමා තම මහප්පා සමග ද අබූ බක්ර් රලියල්ලාහු අන්හුතුමා තම පියා සමග ද සහභාගි වූ බව විශේෂයෙන් සඳහන් කළ යුත්තකි. මේ පිළිබඳව මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම්තුමාණෝ එම සේවය අගය කරමින් පහත පරිදි පැවසූහ.

'අබ්දුල්ලාහ් බින් ජුද්ආන්ගේ නිවසෙහි සිදු වූ එම එකඟතා ගිවිසුමට මම ද සහභාගි වූයෙමි. මට රතු ඔටුවන් හිමි වනවාටත් වඩා එම සම්මුතියට සහභාගි වීමට ලැබීම ආඩම්බරයක් යැයි' මම සිතමි.

මෙම සිදුවීම් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම්තුමා තම තරුණ කාලයේ සත් ක්‍රියාවලට සහාය වූ බවට කදිම නිදසුනකි.

''යහපත කෙරෙහි ද භය භක්තිය කෙරෙහි ද නුඹලා එකිනෙකා උදවු කර ගනිවු. තව ද පාපය කෙරෙහි ද ක්‍රෝධය කෙරෙහි ද නුඹලා එකිනෙකා උදවු කර නොගනිවු'' (5:2) යන අල් කුර්ආන් වැකිය සමාජයේ අප ජීවත් විය යුතු ආකාරය පිළිබඳ අවධාරණය කරයි.

සමාජයේ යහපත් මිනිස්සු ද අයහපත් මිනිස්සු ද සිටිති. යහපතට සහයෝගය දෙන අය හා අයහපතට ඉඩ දෙන අය ද සිටිති. මෙහි දී අප යහපත් ක්‍රියාවලට සහයෝගය ලබා දිය යුතුයි. අයහපත් ක්‍රියා සිදුවීම වැළැක්විය යුතු ය. එකල කුරෙයිෂිවරුන් ක්‍රියාවට නංවා ඇත්තේ මෙම සේවයයි. එහි එක් අවස්ථාවක් වශයෙන් ඉහත සිද්ධිය ඉදිරිපත් කර ඇත.

ලෝකයේ මිනිසා යහපත් ලෙස ජීවත් විය යුතු නම් යහපත් දේ වැඩි විය යුතු ය. අයහපත් දේ අඩු විය යුතු ය. යහපත් දේ වැඩි වීමට තනි පුද්ගල වශයෙන් හා සාමූහික වශයෙන් කටයුතු කළ යුතු ය. අයහපත් දේවල් අඩුවීමට ද තනි තනිව හා සාමූහික ලෙස කටයුතු කළ යුතු ය. මෙය හුදෙක් ම උපදෙසක් නොව ක්‍රියාකාරකමක් ද වේ.

ප්‍රථමයෙන් මෙය නිවසේ සිට ම ආරම්භ කළ යුතු ය. පියවරෙන් පියවර යහළුවන්, ඥාතීන්, අසල්වැසියන් යන සීමා තුළට ගෙන යා යුතු ය. පංති කාමරය තුළ ද ක්‍රමයෙන් ක්‍රියා කළ හැකි ය.



එබැවින්,

★ යහපත් ක්‍රියාවල අප ද නිරත වී අන් අය ද නිරත කරවිය යුතු ය.

★ අයහපත් ක්‍රියාවලින් අප ද වැළකී අන් අය ද වැළැක්වීමට උත්සාහ ගනිමු.

★ අන් අයට ආදර්ශවත්ව හැසිරෙමු.

★ මෙය සැම මුස්ලිම්වරයකුගේ ම යුතුකම වේ.

**අභ්‍යාස**

**1. කෙටියෙන් පිළිතුරු ලියන්න.**

අ). හිල්ෆුල් ෆුලූල් සකස් කරන ලද්දේ කවුරුන් හට අසාධාරණයක් සිදු වූ පසුව ද?

ආ). එයට සහභාගි වූ වැදගත් තරුණයන් දෙදෙනෙකුගේ නම් සඳහන් කරන්න.

(ඇ). හිල්ෆුල් ෆුලූල් ගිවිසුම සකස් කළේ කාගේ නිවසේ දී ද?

(ඈ). එහි ප්‍රධාන අරමුණු මොනවා ද?

(ඉ). හිල්ෆුල් ෆුලූල් පිළිබඳ නබි සල්ලල්ලාහු අලෙයිහි වසල්ලම්තුමා වර්ණනා කරනු ලැබුවේ කෙසේ ද?

**2. ක්‍රියාකාරකම්**

(අ). යහපත් ක්‍රියා වැඩි වීමෙන් අපට ලැබෙන ප්‍රයෝජන පහක් වගුගත ලියන්න.

(ආ). අයහපත් ක්‍රියා වැඩි වීමෙන් අපට සිදුවන හානි පහක් වගුගත ලියන්න.

# 20 යහපත් මිතුරෝ

අම්නා, නන්දනී, ආකිෆා යන අය ආමිරාගේ ගජ මිතුරෝ ය. කුමාර් අර්කම් උබෙෙද් යන අය ආතිෆ්ගේ වෙන් කළ නොහැකි ගජ මිතුරෝ ය. මිත්‍රත්වයෙන් බැඳි හිතවත් වූ අය මිතුරෝ වෙති. ඔවුහු එක් සිත්ව, එකමුතුව සිටිති. සැම අවස්ථාවක දී ම ඔවුහු එකිනෙකාට උදවු කර ගනිති. යහපත් ක්‍රියාවල දී සහාය වෙති. කෙනෙක් අනෙකා අයහපතින් රැක ගනියි.



නබි සල්ලල්ලාහු අලෙයිහි වසල්ලම්තුමාණෝ හා අබු බක්ර් රලියල්ලාහු අන්හුතුමා ගජ මිතුරෝ ය. මේ දෙදෙනා **'සාදික්'** හා **'සිද්දීක්'** යන නම් වලින් අමතනු ලැබූ අතර නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම්තුමා කුඩා කාලයේ පටන් ම ඇත්ත කතා කරන්නකු ලෙස ප්‍රකටව සිටි නිසා එතුමාට 'සාදික්' යන නම හිමි විය. 'සිද්දීක්' යනු ඉස්ලාම් ධර්ම ප්‍රචාරයේ මුල් අවස්ථාවේ දී එය පිළිගත්, අබු බක්ර් රලියල්ලාහු අන්හුතුමාගේ ගෞරව නාමයයි. එහි තේරුම 'සැබෑ කළ තැනැත්තා' වේ.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම්තුමාණන්ගේ තරුණ කාලයේ මක්කාවේ ඛේදවාචකයක් සිදු විය. එනම් මක්කා වැසියකු මඟින් පිටස්තර පුද්ගලයකු රැවටීමට ලක් විය. ඔහු තම දුක්ඛිත තත්ත්වය ප්‍රකාශ කළ විට මක්කාවේ සිටි ප්‍රධානීහු අබ්දුල්ලාහ් ඉබ්නු ජුද්ආන් නම් තැනැත්තාගේ නිවසෙහි එක්රැස් වූවෝ ය. එවිට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම්තුමා ද අබූ බක්ර් රලියල්ලාහු අන්හුතුමා ද තම තමන්ගේ භාරකරුවන් සමග ගොස් සිටියහ. ඔවුන් දෙදෙනා අතර මිත්‍රත්වයක් ඇති වූයේ එවිට ය. යහපත් කටයුත්තක නිරත වූ එම මිත්‍රත්වය අඛණ්ඩව පැවතිණි. මිත්‍රත්වයට කදිම නිදසුනක් ලෙස ඔවුන් දෙදෙනා ගත හැකි ය.

ඔවුන්ගේ තරුණ කාලයේ මිත්‍රත්වයේ උච්චතම අවස්ථාව ලෙස නබි සල්ලල්ලාහු අලෙයිහි වසල්ලම්තුමාට (නුබුව්වත්) ලැබූ කාලය පවතී. නබි සල්ලල්ලාහු අලෙයිහි වසල්ලම්තුමාණෝ නව ධර්මය දේශනා කළ අවස්ථාවේ දී ඉස්ලාමය පිළිගත් ප්‍රථම තැනැත්තා මෙතුමා වූයේ ය. එතුමා එහි දී විසි වසරක මිත්‍රත්වයේ බැඳීම හා එහි ඇති ප්‍රයෝජනය හෙළි කළේ ය. ඔහු තම මිතුරාට ශ්‍රමයෙන් ද මුදලින් ද කැපකිරීම් කළේ ය. තම ජීවිතය නැති වී යා හැකි අවස්ථාවේ දී පවා දෙදෙනා ම සවුර් ගුහාවේ එකට එක්ව බැඳී සිටියහ.



මිතුරන් යහපත් මිතුරන් හා අයහපත් ලෙස කොටස් දෙකකට බෙදා දැක්විය හැක. නබි සල්ලල්ලාහු අලෙයිහි වසල්ලම්තුමා යහපත් මිතුරන්ට සුවඳ විලවුන් වෙළෙන්දා ද අයහපත් මිතුරන්ට කම්මලට ගොස් නැවත හැරී එන තැනැත්තා ද උපමා කර පැහැදිලි කළේ ය. සුවඳ විලවුන් වෙළෙන්දාගෙන් භාණ්ඩ මිල දී නොගත්ත ද ඔහුගේ සුවඳ අත් විඳිය හැක. එහෙත් කම්මලට ගිය තැනැත්තා තම ගන්ධය අන් අයට භුක්ති විඳීමට සලස්වයි. මෙලෙස යහපත් මිතුරා සමග ජීවත් වන්නා යහපත් කෙනෙකු ලෙස ද අයහපත් මිතුරා සමග ජීවත් වන්නා අයහපත් කෙනෙකු ලෙස ද සැලකීය. ''නුඹ නුඹගේ මිතුරා ගැන පවසන්න. මම නුඹ ගැන පවසමි'' යැයි පඬිවරයකු පවසා ඇත්තේ එබැවින් ය.

ලොව සන්සුන්ව ද සමාජය යහපත්ව ද පවුල් ආදර්ශවත්ව ද පැවතිය යුතු නම් යහපත් මිතුරන්ගේ ඇසුර වැඩි කර ගත යුතු ය. අයහපත් මිතුරන්ගේ ඇසුර නැති කර ගත යුතු ය.

කෙනෙකු සමග මිත්‍ර විය යුතු නම් ඔහුගේ ගතිගුණ, චරිතය, වයස, ස්වභාවය, ඇසුර පිළිබඳව හොඳින් සිතා බලා හෝ එසේ නැතිනම් දෙමව්පියන් ගුරුවරුන් වැනි අයගෙන් උපදෙස් ලබා හෝ තීරණය කළ යුතු ය. කිසිදු කෙනෙකු හදිසියේ ම සුළු අවශ්‍යතාවලට මිතුරන් කර නොගත යුතු ය. ඇසුර යනු හදිසියේ ඇති වන්නක් නොවේ. එය ක්‍රමයෙන් ඇසුරු කිරීමෙන් කාලයත් සමග ඇති වන්නකි.

මලක් සමග සිටින විට අප ද සුවඳවත් වන්නා සේ යහපත් මිතුරන් සමග එකතු වූ විට අපද සුවඳවත් වනු ඇත.

**එබැවින් අප හොඳ මිතුරන් සොයා ගත යුතු ය. අයහපත් අයගේ මිතුදමින් වැළකිය යුතු ය.**

**අභ්‍යාස**

**1. පහත ප්‍රකාශ හරි නම් ( ✓ ) යනුවෙන් ද වැරදි නම් ( ✗ ) යනුවෙන් ද සඳහන් කරන්න.**

අ. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම්තුමා ද අබූ බක්ර් රලියල්ලාහු අන්හු තුමා ද යහපත් මිතුරෝ වූහ. (   )

ආ. අබූ බක්ර් රලියල්ලාහු අන්හුතුමා තම මිතුරා සතුටු කළ අවස්ථා රාශියක් ඇත. (   )

ඇ. යහපත් මිතුරන් ක්ෂණිකව සොයා ගත හැකි ය. (   )

ඈ. අයහපත් මිතුරන්ගේ ඇසුර වළක්වා ගත යුතු ය. (   )

**ක්‍රියාකාරකම්**

1. යහපත් මිතුරන් සතුව තිබිය යුතු ගුණාංග පහක් සඳහන් කරන්න.

2. ඔබගේ මිතුරන් දෙදෙනකුගේ නම් සඳහන් කර ඔවුන් සතු යහපත් ගුණාංග තුනක් ලියන්න.

# 21 සරල බව සහ අරපිරිමැස්ම

නබිවරුන් සියලු දෙනා ම සරල අරපිරිමැස්මෙන් යුතු ජීවිත ගත කර ආදර්ශවත් වී ඇත. නබි සල්ලල්ලාහු අලෙයිහි වසල්ලම්තුමාණෝ මිනිස් සමාජයට මග පෙන්වන්නකු ලෙස යවන ලදහ. එතුමා අලංකාරවත් ආදර්ශ පෙන්වා දී ඇත. එය පහත සඳහන් අල් කුර්ආන් වදනෙන් පැහැදිලි වේ. ''නියත වශයෙන් ම අල්ලාහ්ගේ දූතයා සතුව අගනා ආදර්ශ ඇත. (33:21) අල්ලාහ් මාගේ බාහිර පෙනුම අලංකාර ලෙස ඇති සේ ම ගුණාංග ද අලංකාර කරනු මැනව' යැයි නබි සල්ලල්ලාහු අලෙයිහි වසල්ලම්තුමා ප්‍රාර්ථනා කර ඇත.



නබි සල්ලල්ලාහු අලෙයිහි වසල්ලම්තුමාගේ යහ ගුණාංග අතරින් සරල බව හා අරපිරිමැස්ම වැදගත් ස්ථානයක් හිමි කර ගන්නේ ය. **සරල බව යනු දුප්පතෙකු ලෙස ජීවත් වීම නොව ආඩම්බර නොවී ජීවත්වීම ය. අරපිරිමැස්ම යනු මසුරුකම නොව අවශ්‍යතාවට සරිලන පරිදි වියදම් කිරීම හා නිරහංකාර ව ජීවත්වීම ය.**

උදාහරණයක් ලෙස නබි සුලෙයිමාන් අලෙයිහිස්ලාම් තුමා මහා කෝටිපතියකු ලෙස හා සර්ව බලධාරී පාලකයකු ලෙස සිටිය ද සරලව අරපිරිමැස්මෙන් ජීවත් වූ බව අල්ලාහ් සඳහන් කර ඇත.

එනිසා ජීවිතය තෘප්තිමත් ලෙස පවත්වා ගැනීම සඳහා සරල බව හා අරපිරිමැස්ම අත්‍යවශ්‍ය ගුණාංග දෙකක් ලෙස පවතී.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම්තුමාණෝ වත්කම් තිබිය දී පවා ආඩම්බරකම වළක්වා ගත්තෝ ය. එතුමා ඉස්ලාමීය රාජ්‍යයේ නායකයා විය. එතුමා සතුව දේපොළ තිබුණු නමුත් ඒවා තම යහපත වෙනුවෙන් භාවිත නොකළේ ය. සමාජ ශුභසිද්ධිය සඳහා ම භාවිත කළේ ය. ධන සම්පත් යනු සුරක්ෂිත ලෙස භාවිත කිරීම සඳහා අල්ලාහ් විසින් දෙනු ලැබූ දායාදයකි. එය ඉපැයීම ද වියදම් කිරීම ද හලාල් ආකාරයට සිදුවිය යුතු ය. මෙයට ආදර්ශවත් අයෙකු ලෙස නබි සල්ලල්ලාහු අලෙයිහි වසල්ලම්තුමා සිටියේ ය.

එතුමාගේ සරල ජීවිතය පිළිබඳ නිදසුන් කිහිපයකට අවධානය යොමු කරමු. ආයිෂා රලියල්ලාහු අන්හාතුමිය නබි සල්ලල්ලාහු අලෙයිහි වසල්ලම්තුමාණන්ගේ ආදරණීය බිරිඳ වූවා ය. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම්තුමාණන්ගේ සරල ජීවිතය පිළිබඳව එතුමිය මෙසේ පැවසුවාය. 'රටඉඳි හා ජලය පමණක් අපගේ ආහාරය ලෙස තිබිණි. සමහර අවස්ථාවල අසල්වැසි නිවෙස්වල සිටි මිතුරෝ ඔවුන් දොවා ගත් කිරි, තෑගි වශයෙන් අපට ලබා දෙති. අපි ඒවා පානය කළෙමු.' (බුහාරී)

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම්තුමා සතුව පැදුරක් තිබිණි. දහවල් කාලයේ එතුමා එය දිගහැර වාඩි වෙයි. රාත්‍රි කාලයේ එය දොරක් ලෙස භාවිතයට ගනියි.

එතුමා නිදා ගැනීමට භාවිත කරන පැදුර මත අන් කිසිවක් එළා ගන්නේ නැත. මෙනිසා නින්දෙන් අවදි වූ පසු එතුමාගේ සිරුරෙහි එම පැදුරේ සලකුණු දැකගත හැකි විය. එතුමා තම හිසට සත්ත්ව සමෙන් සාදන ලද කොට්ටයක් තබා ගනියි. දෙපා අසල සත්ත්ව සම් පදම් කිරීමට යොදා ගන්නා කොළ ගොඩක් ගසා තිබිණි. මෙය දුටු උමර් රලියල්ලාහු අන්හුතුමා කඳුළු සලා ඇත්තේ ය.

නබි සල්ලල්ලාහු අලෛයිහි වසල්ලම්තුමා මරුමුවට පත්වන අවස්ථාවේ රත්රන් හෝ රිදී හෝ වහලුන් හෝ ඉතිරි කර ගියේ නැත. ඒ වෙනුවට සුදු බූරුවකු හා භාවිත කරන ලද භාණ්ඩ, දන් දීමක් ලෙස ලැබූ කුඩා ඉඩම් කැබැල්ලක් යනාදිය පමණක් ඉතිරි කර ගියේ ය. එබැවින් අපි ද,

**අපි අපගේ අවශ්‍යතාව අවමකර තමන් සතුව තිබෙන දේ ප්‍රයෝජනවත් අයුරින් වියදම් කරමු.**

**එය අරපිරිමැස්ම යනුවෙන් අවබෝධ කොටගෙන ආඩම්බරකම හා නාස්තිය පිටු දැක ජීවත් වීමට වග බලා ගනිමු.**

**අභ්‍යාස**

**හිස්තැන් පුරවන්න.**

1. ........................ හා අරපිරිමැස්ම නබි සල්ලල්ලාහු අලෙයිහි වසල්ලම්තුමාගේ ගුණාංග අතර උසස් ගුණාංග දෙකකි.
2. ආඩම්බරකමින් හා ....................................මිදී ජීවත් වෙමු.
3. ධන සම්පත් අල්ලාහ් විසින් පිරිනමන ලද ................................. වන හෙයින් ඒවා නිසි ආකාරයට භාවිත කළ යුතු ය.
4. මහා ධනයක් හා පාලනයක් තිබුණ ද නබි ............................... අලෙයිහිවසල්ලම් තුමා චාම් ජීවිතයක් ගත කළේ ය.

**ක්‍රියාකාරකම**

නබි සල්ලල්ලාහු අලෙයිහි වසල්ලම්තුමාගේ සරල ජීවිතය පිළිබඳව අයිෂා රලියල්ලාහු අන්හාතුමිය පැවසූ කරුණු මොනවාද?

# 22 ඉමාම් මාලික් රහ්මතුල්ලාහි අලෙයිහිතුමා

නබි සල්ලල්ලාහු අලෙයිහිවසල්ලම්තුමා හා සහාබාවරුන් මිය ගිය පසු මුස්ලිම්වරුන්ට මගපෙන්වූ විද්වත්තු ඉමාම්වරු නම් වෙති. ඔවුහු දැනුමෙන් ද තක්වාවෙන් ද ක්‍රියාවෙන් ද ශ්‍රේෂ්ඨ පුද්ගලයෝ වූහ. ඔවුන් අතර ඉමාම් මාලික් රහ්මතුල්ලාහි අලෙයිහිතුමා ද කෙනෙකි.

ඉමාම් මාලික් රහ්මතුල්ලාහි අලෙයිහිතුමා හිජ්රි දෙවන සියවසේ බිහිවූ උසස් විද්වතුන්ගෙන් කෙනෙකි. එතුමා හදීස් අංශයෙන් ද ෆික්හ් අංශයෙන් ද නිපුණත්වය ලැබ සිටියේ ය.

ඉමාම් මාලික් රහ්මතුල්ලාහි අලෙයිහිතුමාගේ වැඩිහිටියෝ යෙමන් දේශයට අයත් වූවෝ වෙති. ඔවුහු ඉස්ලාමය හඳුන්වා දුන් කාල වකවානුවේ මදීනාවෙහි පදිංචි වූහ. ඉමාම් මාලික් රහ්මතුල්ලාහි අලෙයිහි තුමා හිජ්රි 93 වන වසරේ මදීනාවේ අනස් යන තැනැත්තාට දාව ඉපදුණේ ය.



නබි සල්ලල්ලාහු අලෙයිහිවසල්ලම්තුමාගේ හිජ්රතයට පසු මදීනාව මුස්ලිම්වරුන්ගේ අගනුවර විය. සහාබාවරු ද තාබිඊන්වරු ද එහි ජීවත් වූහ. ඔවුහු ඉස්ලාමය උගන්වමින් සිටියහ. එබැවින් එය අගනුවර ලෙස පමණක් නොව අධ්‍යාපන නගරයක් ලෙස ද වෙනස් විය. වෙනත් ප්‍රදේශ වලින් සිසුහු මදීනාවට පැමිණ අධ්‍යාපනය ලබා ගත්හ.



මාලික් රහ්මතුල්ලාහි අලෙයිහි තුමා මදීනාවේ ඉපදී හැදුණු වැඩුණු බැවින් එතුමාට අධ්‍යාපනය සඳහා වෙනත් ස්ථානයකට යාමට අවශ්‍ය වූයේ නැත. සහාබාවරුන්ගෙන් ද තාබිඊන්වරුන්ගෙන් ද ශ්‍රේෂ්ඨ උගතුන්ගෙන් ද අධ්‍යාපනය ලැබූහ. කාරි අබූ හාදිම් ෂිහාබුස් සුහ්රි, ජඃෆර් සාදික්, රාබිඅතුර් රෙයිඋ වැනි අය එතුමාගේ ගුරුවරු ලෙස සිටියහ. කුසලතා පූර්ණ වූ එතුමාණෝ ස්වයං අධ්‍යයනයෙන් ද තම දැනුම වර්ධනය කරමින් සිටියහ.

එතුමා නබි සල්ලල්ලාහු අලෙයිහි වසල්ලම්තුමා ජීවත් වූ මදීනාව ප්‍රිය කළේ ය. නබි සල්ලල්ලාහු අලෙයිහි වසල්ලම්තුමාණන් ගැවසුණු භූමියට ගෞරව කළේ ය. එහි පාවහන් පැලඳගෙන යාමට පවා එතුමා පැකිළුණේ ය. ඉගෙන ගැනීමට හෝ ඉගැන්වීමට මදීනාවෙන් පිටතට යාමට එතුමා අකමැති වූයේ ය. හජ් කිරීම සඳහා පමණක් ම එතුමා මදීනාවෙන් පිටතට ගියේ ය.

එම නිසා එතුමා **ඉමාමුල් මදීනා** යනුවෙන් අමතනු ලැබී අද ප්‍රසිද්ධ ව පවතින හදීස්, හා ෆික්හ් ගොනුකර **මුඅත්තා** යන ග්‍රන්ථය ලියුවේ ය. පසුව එම ග්‍රන්ථය පදනම් කර ගනිමින් මස්ජිදුල් නබවියේ හදීස් පැහැදිලි කරන පංතියක් පැවැත්වූයේ ය.

එය ඉතා උසස් පාසලක්ව පැවතිණි. ශිෂ්‍යයින් ද අමුත්තන් අතර ද වැඩිහිටියන් ද එකට හිඳ ඉගෙනුම ලබන ආයතනයක් ලෙස පෙනුණි. නිහඬතාව හා විනය සපිරි පිරිසිදු සුවඳවත් භක්තිපූර්වක පංතියක් ලෙස පැවතුණි. සමහර කලීෆාවරු පවා එයට සහභාගී වී ඇත්තෝ ය. ඒ සියලු දෙනා දෙස එක හා සමාන බැල්මක් හෙළනු ලැබ ඇත.

වරක් කලීෆා හාරූන් රෂීඩ්තුමා තම ස්ථානයට පැමිණ පාඩම් උගන් වන ලෙස ඉල්ලා සිටියේ ය. එවිට එතුමා තමා මදීනාවෙන් පිටතට යන්නේ නැතැයි පවසා දැනුම සොයා ජනතාව පැමිණිය යුතුව මිස ජනතාව සොයා දැනුම යා යුතු නැත යයි දැනමුතුකම් ද දුන්නේ ය.

එතුමාගේ කාලයේ ෆික්හු (ඉස්ලාමීය නීති) දියුණු වී නොතිබුණි. එබැවින් තමන් වෙත ඉදිරිපත් වූ නීතිමය ගැටලු වලට ද විසඳුම් ලබා දෙමින් සිටියේ ය. ඒවායෙහි ගොනුවක් ලෙස හා විස්තර කිරීමක් ලෙස මාලික් මද්හබය බිහි විය.

මෙලෙස නබි සල්ලල්ලාහු අලෙයිහිවසල්ලම්තුමාණන් ද එතුමාණන් ජීවත් වූ නගරය ද ප්‍රිය කරමින් ඉස්ලාමීය මඟපෙන්වීම් ජනතාවට ලබාදුන් ඉමාම් මාලික් රහ්මතුල්ලාහි අලෙයිහිතුමා හිජ්රි 179 දී මදීනාහි වෆාත් වූයේ ය. එතුමාගේ ජනාසාව ජන්නතුල් බකී හි භූමදානය කෙරිණි.

**අභ්‍යාස**

**(1). පහත ප්‍රකාශ හරි නම් (✓) යනුවෙන් ද වැරදි නම් (X) යනුවෙන් ද සඳහන් කරන්න.**

(අ) ඉමාම් මාලික් රහ්මතුල්ලාහි අලෛයිහිතුමාට ඉමාමුල් මදීනා යයි පවසනු ලැබේ ( )

(ආ) ඉමාම් මාලික් රහ්මතුල්ලාහි අලෛයිහිතුමා යෙමන් හි ඉපදුණේ ය ( )

(ඇ) මාලික් මද්හබයේ නිර්මාතෘ ඉමාම් මාලික් රහ්මතුල්ලාහි අලෛයිහිතුමා වේ. ( )

(ඈ) මුඅත්තා යනු කාව්‍ය ග්‍රන්ථයකි. ( )

(ඉ) ඉමාම් මාලික් රහ්මතුල්ලාහි අලෛයිහිතුමා මදීනාව අධිකව ප්‍රිය කළේය.

(2) ඉමාම් මාලික් රහ්මතුල්ලාහි අලෛයිහිතුමා නබි සල්ලල්ලාහු අලෛයිහිවසල්ලම් තුමා කෙරෙහි දයාව දැක්වූ ආකාරය විස්තර කරන්න.

(3) ඉමාම් මාලික් රහ්මතුල්ලාහි අලෛයිහිතුමාට ඉමාමුල් මදීනා යයි පැවසීමට හේතු වූ කරුණු කුමක් ද?